

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්



# පෙරවදන

ලෝකය දිනෙන් දින සංවර්ධනය කරා පියමනින විට අධ්‍යාපන ක්ෂේත්‍රය ද සැමවිටම අලුත් වෙයි. එබැවින් අනාගත අභියෝග සඳහා සාර්ථක ලෙස මුහුණ දිය හැකි ශිෂ්‍ය ප්‍රජාවක් බිහිකරලීමට නම් අපගේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය ද නිරතුරුව සාධනීය ප්‍රවේශ වෙත ළඟාවිය යුතු ය. එයට සවියක් වෙමින් නවලොව දැනුම සමීප කරන අතරම, යහගුණයෙන් පිරිපුන් විශ්වීය පුරවැසියන් නිර්මාණය කිරීමට සහයවීම අපගේ වගකීම වේ. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යයෙහි සක්‍රිය ලෙස ව්‍යාවෘත වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ සඳහා දායක වනුයේ දෑයේ දරුවන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොතක් යනු දැනුම පිරි ගබඩාවකි. එය විටෙක අප වින්දනාත්මක ලොවකට කැඳවාගෙන අතරම තර්ක බුද්ධිය ද වඩවාලයි. සැඟවුණු විභව්‍යතා විකසිත කරවයි. අනාගතයේ දිනෙක, මේ පෙළ පොත් හා සබැඳි ඇතැම් මතක, ඔබට සුවයක් ගෙන දෙනු ඇත. මේ අනගි ඉගෙනුම් උපකරණයෙන් ඔබ නිසි පල ලබාගන්නා අතරම තව තවත් යහපත් දැනුම් අවකාශ වෙත සමීප වීම ද අනිවාර්යයෙන් සිදු කළ යුතු ය. නිදහස් අධ්‍යාපනයේ මහරු තිළිණයක් ලෙස නොමිලේ මේ පොත ඔබේ දෝතට පිරිනැමේ. පාඨ ග්‍රන්ථ වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පෙළ පොත හොඳින් පරිශීලනය කර නැණ ගුණ පිරි පුරවැසියන් වී හෙට ලොව එළිය කරන්නට ඔබ සැමට දිරිය සවිය ලැබෙන්නැයි සුබ පතමි.

මෙම පෙළපොත් සම්පාදන සත්කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ප්‍රණාමය පළකරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2020.05.26

| | |
|---|---|
| **නියාමනය හා අධීක්ෂණය** | ඩබ්.එම්. ජයන්ත වික්‍රමනායක<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| **මෙහෙයවීම** | ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි<br>කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| **සම්බන්ධීකරණය** | ආර්.ඒ.ඩී. නන්දනී රූපසිංහ<br>නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.<br><br>ඒ.එම්.ආර්.කේ. අධිකාරි<br>නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| **සහාය සම්බන්ධීකරණය** | වී.ජී. ඩයනා දිල්රුක්ෂි<br>සංවර්ධන නිලධාරි<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

| **සංස්කාරක මණ්ඩලය** | |
|---|---|
| 1. සම්මානිත මහාචාර්ය එන්.කේ. දන්ගල්ල | කැලණිය විශ්වවිද්‍යාලය |
| 2. මහාචාර්ය එස්.ඒ. නෝබට් | කොළඹ විශ්වවිද්‍යාලය |
| 3. ආර්.පී. පීරිස් | අතිරේක කොමසාරිස් (විශ්‍රාමික)<br>විභාග දෙපාර්තමේන්තුව. |
| 4. ආර්.ඒ.ඩී. නන්දනී රූපසිංහ | නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| 5. අනූපා මධුපානි වීරරත්න | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| 6. එච්. දහනායක | ප්‍රධාන සංස්කාරක (විශ්‍රාමික)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| 7. එම්. පී. රංජනී ධනවර්ධන | අධ්‍යක්ෂ, සමාජ විද්‍යා දෙපාර්තමේන්තුව<br>ජාතික අධ්‍යාපන ආයතනය. |

| | |
|---|---|
| 8. සිවචිත්‍රා පලනි | ගුරු උපදේශිකා,<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>යාපනය. |
| **ලේඛක මණ්ඩලය** | |
| 1. එන්.ඒ. චිත්‍රලතා | ගුරු උපදේශිකා,<br>කලාප අධ්‍යාපන කාර්යාලය, මාතර. |
| 2. ඩබ්. කාන්ති පෙරේරා ධර්මවර්ධන | ගුරු සේවය, සාන්ත පීතර ම.ම.වි,<br>මීගමුව. |
| 3. ආර්.ඒ. චන්ද්‍රසිරි | ගුරු උපදේශක,<br>දිවුලපිටිය කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය,<br>මරඳගහමුල. |
| 4. කේ. සෝමදාස | ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය, මාතර. |
| 5. ඩී.එම්.ජේ. බණ්ඩාර | ගුරු සේවය, කුලි/සාරානාත් මහා විද්‍යාලය,<br>කුලියාපිටිය. |
| 6. එස්.බාලසුන්දරම් | නියෝජ්‍ය කොමසාරිස් (විශ්‍රාමික),<br>විභාග දෙපාර්තමේන්තුව. |
| 7. එස්.ඒ.එච්.හුස්නා | සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,<br>කලාප අධ්‍යාපන කාර්යාලය, දෙහිඕවිට. |
| 8. යාලිනී කරුණාගරන් | ගුරු සේවය, ශාන්ත ක්ලෙයාර් විද්‍යාලය,<br>කොළඹ 06. |
| **භාෂා සංස්කරණය** | |
| ඔසඳ ගුණරත්න | බාහිර කථිකාචාර්ය, ශ්‍රීපාලි මණ්ඩපය<br>කොළඹ විශ්වවිද්‍යාලය. |
| **පිටකවර නිර්මාණය, පරිගණක අක්ෂර සංයෝජනය** | |
| **සිතියම්, රූපසටහන් සහ පරිගණක පිටු සැකසුම** | |
| ආර්.ඒ. යුරේකා දිල්රුක්ෂි | තොරතුරු තාක්ෂණ අංශය,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

# පටුන

# 01 අප ජීවත්වන පෘථිවි ගෝලය



පෘථිවියේ හැඩය, අක්ෂාංශ, දේශාංශ, සාගර හා මහාද්වීප
පිළිබඳ තොරතුරු ඇසුරින් පෘථිවි ගෝලය සම්බන්ධ ව
අධ්‍යයනය කිරීම මෙම පරිච්ඡේදයේ අරමුණ වේ.



අප ජීවත්වන පෘථිවි ගෝලය ස්වභාව ධර්මයේ අපූරු නිර්මාණයක් ලෙස සැලකිය හැකි ය. දැනට ලැබී ඇති තොරතුරු අනුව වායුව හා ජලය පවතින, ජීවීන්ට හිතකර පරිසරයක් ඇති එක ම ග්‍රහලෝකය පෘථිවිය යි.

පෘථිවිය, තම අක්ෂය වටා කරකැවෙමින් සූර්යයා වටා ද ගමන් කරයි. තම අක්ෂය වටා යන ගමන භ්‍රමණය ලෙසත් සූර්යයා වටා ගමන් කිරීම පරිභ්‍රමණය ලෙසත් හැඳින්වේ. පෘථිවිය තම අක්ෂය වටා භ්‍රමණය වීමට ගත වන පැය 24ක කාලය, දවසක් ලෙස ද, පෘථිවිය සූර්යයා වටා පරිභ්‍රමණය වීමට ගත වන දින 365ක කාලය, වසරක් ලෙස ද සලකනු ලැබේ. එහෙත් ඇත්ත වශයෙන් ම පෘථිවිය සූර්යයා වටා පරිභ්‍රමණය වීමට දින 365 පැය 6ක කාලයක් ගත වන හෙයින්, වසර හතරකට වරක් පැය 6 බැගින් එකතු කොට සම්පූර්ණ දිනයක් සේ සලකා එම අවුරුද්ද අධික අවුරුද්දක් ලෙස ගණන් ගැනේ.



1.1 රූපය - පෘථිවි භ්‍රමණය

## පෘථිවියේ හැඩය

අතීතයේ දී පෘථිවියේ හැඩය පිළිබඳ විවිධ අදහස් පැවතුණ ද පෘථිවිය ගෝලාකාර වස්තුවක් බව වර්තමානයේ දී නිශ්චිත ව ම හඳුනාගෙන ඇත. අභ්‍යවකාශයේ සිට ගන්නා ලද පෘථිවියේ ඡායාරූප නිරීක්ෂණය කිරීමෙන් එය වඩාත් තහවුරු වේ (1.2 රූපය).



1.2 රූපය - අභ්‍යවකාශයේ සිට ගන්නා ලද පෘථිවියේ ඡායාරූපයක්

පෘථිවිය, ගෝලාකාර වස්තුවක් ලෙස සැලකුව ද එය පූර්ණ ගෝලයක් නොවේ. පෘථිවිය ධ්‍රැවාසන්නයේ දී පැතලි ස්වභාවයක් ගැනීමත් පෘථිවි ගෝලයේ සමක පරිධිය ධ්‍රැව පරිධියට වඩා විශාල

වීමත් ඊට හේතු වේ (1.3 රූපය). එසේ වුවද මෙය ඉතා සුළු වෙනසක් බව සංඛ්‍යා සටහන මගින් පැහැදිලි වේ.

| | |
|---|---|
| සමක විෂ්කම්භය | = 12757km |
| ධ්‍රැව විෂ්කම්භය | = 12714km |
| සමක පරිධිය | = 40077km |
| ධ්‍රැවක පරිධිය | = 39943km |




1.3 රූපය - පෘථිවියේ හැඩය

පෘථිවි ගෝලයේ මතුපිට වර්ග ප්‍රමාණය වර්ග කිලෝමීටර් මිලියන 510ක් පමණ වේ.

මූලාශ්‍රය : *https://www.google.lk*2015/07/10

## ක්‍රියාකාරකම්



01. I. පෘථිවියේ භ්‍රමණය හා පරිභ්‍රමණය කෙටියෙන් හඳුන්වන්න.

II. පෘථිවි භ්‍රමණය හා පරිභ්‍රමණය සිදු වීමට ගත වන කාලය ලියා දක්වන්න.

02. පෘථිවිය පූර්ණ ගෝලයක් නොවන බවට ඇති සාක්ෂි මොනවා ද?

## අක්ෂාංශ හා දේශාංශ

පෘථිවි ආදර්ශ ගෝලය නිරීක්ෂණය කිරීමේ දී එහි උතුරේ සිට දකුණටත්, බටහිර සිට නැගෙනහිරටත් අඳින ලද රේඛා සමූහයක් ඇති බව ඔබට පෙනෙනු ඇත. මෙම රේඛා අප විසින් නිර්මාණය කර ගන්නා ලද මනඃකල්පිත රේඛා සමූහයක් වන අතර ඒවා අක්ෂාංශ හා දේශාංශ ලෙස හඳුන්වනු ලැබේ.




1.4 රූපය - අක්ෂාංශ සහ දේශාංශ

පෘථිවි ආදර්ශ ගෝලය වටා නැගෙනහිර සිට බටහිරට තිරස් අතට විහිදෙන රේඛා, අක්ෂාංශ ලෙස ද

පෘථිවි ආදර්ශ ගෝලයේ උත්තර ධ්‍රැවයේ සිට දක්ෂිණ ධ්‍රැවය දක්වා විහිදෙන රේඛා දේශාංශ ලෙස ද හැඳින්වේ. (1.4 රූපය).

ආදර්ශ ගෝලයේ තිරස් අතට හරි මැදින් වැටී ඇති රේඛාව, අක්ෂාංශ $0^0$ හෙවත් සමකය වේ.




1.5 රූපය - ප්‍රධාන අක්ෂාංශ

සමකයෙන් උතුරු කොටස, උතුරු අර්ධගෝලය ලෙසත් දකුණු කොටස, දකුණු අර්ධගෝලය ලෙසත් හැඳින්වේ. එම නිසා සමකයට උතුරෙන් පිහිටි රේඛා, උතුරු අක්ෂාංශ ලෙස ද සමකයට දකුණින් පිහිටි රේඛා, දකුණු අක්ෂාංශ ලෙස ද හඳුන්වනු ලැබේ.

අක්ෂාංශ රේඛා අතර ප්‍රධාන අක්ෂාංශ කිහිපයකි. 1.5 රූපය නිරීක්ෂණය කොට ඒවා හඳුනාගන්න. $90^0$ අක්ෂාංශය ලක්ෂ්‍යයක් ලෙස දක්වා ඇත. උතුරු අක්ෂාංශ $90^0$, උත්තර ධ්‍රැවය වන අතර දකුණු අක්ෂාංශ $90^0$, දක්ෂිණ ධ්‍රැවය යි.

## ක්‍රියාකාරකම



1.5 රූපය නිරීක්ෂණය කොට ආදර්ශ ගෝලයේ ප්‍රධාන අක්ෂාංශ හඳුනාගෙන වටිනාකම් ද සහිත ව නම් කරන්න.

ආදර්ශ ගෝලයේ උතුරු හා දකුණු ධ්‍රැව යා කරමින් ඇඳ ඇති රේඛා දේශාංශ වේ.

බ්‍රිතාන්‍යයේ ග්‍රිනිච් නගරය හරහා ඇඳ ඇති $0^0$ රේඛාව, ග්‍රිනිච් මධ්‍ය දේශාංශය යි.

එම රේඛාවෙන් බටහිර ඇති රේඛා, බටහිර දේශාංශ ලෙස ද නැගෙනහිර ඇති රේඛා, නැගෙනහිර දේශාංශ ලෙස ද හඳුන්වනු ලැබේ.




1.6 රූපය - දේශාංශ

මධ්‍ය දේශාංශයේ සිට නැගෙනහිරට $180^0$ දක්වාත් බටහිරට $180^0$ දක්වාත් දේශාංශ රේඛා 360ක් විහිදේ. එබැවින් $180^0$ දේශාංශය බටහිර හා නැගෙනහිර යන දෙකට ම පොදු වේ. $180^0$ දේශාංශය පදනම් කර ගෙන ජාත්‍යන්තර දින රේඛාව ලකුණු කර ඇත. ජාත්‍යන්තර දින රේඛාව, සෘජු රේඛාවක් ලෙස දැක්වීමෙන් රටක් දෙකඩ වීමට ඉඩ ඇති බැවින් එය වැළැක්වීම සඳහා රටවල් නොබෙදෙන පරිදි විහිදෙන රේඛාවකින් එය දක්වා තිබේ. ඔබ ඉගෙනගත් අක්ෂාංශ හා දේශාංශ රේඛා ලෝක ආකෘති සිතියමක විහිදී ඇති ආකාරය 1.1 සිතියම නිරීක්ෂණය කොට හඳුනාගන්න.




1.1 සිතියම - ලෝක සිතියමක අක්ෂාංශ හා දේශාංශ රේඛා විහිදෙන ආකාරය

**පෘථිවිය මත පිහිටි ඕනෑ ම ස්ථානයක පිහිටීම නිශ්චිත ව හා නිවැරදි ව ප්‍රකාශ කිරීම සඳහා අක්ෂාංශ හා දේශාංශ රේඛා යොදා ගැනේ.**

## ක්‍රියාකාරකම්



01. ලෝක ආකෘති සිතියමක පහත සඳහන් අක්ෂාංශ හා දේශාංශ රේඛා ලකුණු කර නම් කරන්න.

    සමකය($0^0$)

    කර්කටක නිවර්තනය (උ. අ. $23.5^0$)

    මකර නිවර්තනය (ද. අ. $23.5^0$)

    ආක්ටික් වෘත්තය (උ. අ. $66.5^0$)

    ඇන්ටාක්ටික් වෘත්තය (ද. අ. $66.5^0$)

    ග්‍රිනිච් රේඛාව ($0^0$)

    නැගෙනහිර දේශාංශ ($80^0$)

02. ගුරු උපදෙස් ලබා ගනිමින් මධ්‍ය ප්‍රමාණයේ රිජිෆෝම් බෝලයක් ගෙන ප්‍රධාන අක්ෂාංශ හා දේශාංශ එහි ලකුණු කර නම් කරන්න.

03. පෘථිවි ආදර්ශ ගෝලය නිරීක්ෂණය කොට කොළඹ, ටෝකියෝ, නිව්යෝර්ක්, ලන්ඩන්, කල්කටා යන නගරවල පිහිටීම, අක්ෂාංශ හා දේශාංශ මගින් දක්වන්න.

## මහාද්වීප හා සාගර

පෘථිවි පෘෂ්ඨයේ 71%ක් ජලයෙන් ද 29%ක් ගොඩබිම් ප්‍රදේශවලින් ද වැසී ඇත. ජලතල ප්‍රදේශ, සාගර හා මුහුදු වශයෙන් ද ගොඩබිම් ප්‍රදේශ, මහාද්වීප හා දූපත්වලින් ද සමන්විත වේ.

### මහාද්වීප

පෘථිවිය, මහාද්වීප හතකින් සමන්විත ය.

**මහාද්වීපයක් යනු ඉතා විශාල, අඛණ්ඩව විහිදෙන, බොහෝ විට ජලයෙන් වෙන් වූ භූ ස්කන්ධයකි.**

| මහාද්වීප | විශාලත්වය km² මිලියන |
|---|---|
| 01. ආසියා මහාද්වීපය | 43.6 |
| 02. අප්‍රිකා මහාද්වීපය | 30.3 |
| 03. උතුරු ඇමරිකා මහාද්වීපය | 25.3 |
| 04. දකුණු ඇමරිකා මහාද්වීපය | 17.8 |
| 05. ඇන්ටාක්ටිකා මහාද්වීපය | 14.0 |
| 06. යුරෝපා මහාද්වීපය | 10.5 |
| 07. ඕස්ට්‍රේලියා මහාද්වීපය | 8.9 |

**දූපතක් යනු ජලයෙන් වට වූ කුඩා ගොඩබිමකි.**

ගොඩබිම් ප්‍රදේශ වටා වෙරළාශ්‍රිත ව දූපත් රාශියක් පිහිටා තිබේ.




1.2 සිතියම - ලෝකයේ මහාද්වීප සහ දූපත්

මේ එක් එක් මහාද්වීප තුළ දේශපාලනික වශයෙන් වෙන් වූ රටවල් දක්නට ලැබේ. එහෙත් මහාද්වීපයක් වූ ඕස්ට්‍රේලියාව තනි රටකි. 1.3 සිතියම නිරීක්ෂණය කොට මහාද්වීප තුළ පිහිටි රටවල් කිහිපයක් හඳුනාගන්න.




1.3 සිතියම - ලෝකයේ දේශපාලන බෙදීම්

## සාගර

**මහාද්වීප අතර පිහිටි විශාල ජලතල ප්‍රදේශ, සාගර ලෙස ද මහාද්වීප ආසන්නයේ හා අභ්‍යන්තර ප්‍රදේශවල පිහිටා ඇති කුඩා ජලතල, මුහුදු ලෙස ද හැඳින්වේ.**

ලෝකයේ ප්‍රධාන සාගර පහකි.

| | විශාලත්වය $km^2$ මිලියන |
|---|---|
| 01. පැසිෆික් සාගරය | 156 |
| 02. අත්ලන්තික් සාගරය | 77 |
| 03. ඉන්දියන් සාගරය | 69 |
| 04. ඇන්ටාක්ටික් සාගරය | 20 |
| 05. ආක්ටික් සාගරය | 14 |

මූලාශ්‍රය : ***http://www.allfiveoceans.com2017/01/16***

ජපන් මුහුද, චීන මුහුද, උතුරු මුහුද, රතු මුහුද, මධ්‍යධරණී මුහුද මහාද්වීප ආසන්න ව පිහිටි මුහුදු කිහිපයකි. කැස්පියන් මුහුද සහ එරල් මුහුද ආසියා මහාද්වීපය තුළ පිහිටා ඇත.

**1.4 සිතියම - ලෝකයේ සාගර සහ මුහුදු**

## ක්‍රියාකාරකම්

01. ලෝක සිතියමක සාගර නිල් පැහැයෙන් සේයා කර නම් කරන්න.

02. සාගරවලට සම්බන්ධ වූ මුහුදු තුනක් හා මහාද්වීප අභ්‍යන්තරයේ පිහිටි මුහුදු දෙකක් ලකුණු කොට නම් කරන්න.

03. සිතියම් පොතක් ආධාරයෙන් ඉන්දියන් සාගරයේ ශ්‍රී ලංකාවට ආසන්න ව පිහිටි දූපත් තුනක් නම් කරන්න.

04.

## ක්‍රියාකාරකම්



i. 9 පිටුවෙහි දක්වා ඇති ලෝක සිතියමෙහි A,B,C යනුවෙන් සලකුණු කොට ඇති අක්ෂාංශ රේඛා නම් කර ඒවායේ වටිනාකම් ද, E,F,G යනුවෙන් සලකුණු කොට ඇති දේශාංශ රේඛාවල වටිනාකම් ද ලියා දක්වන්න.

ii. සිතියම නිරීක්ෂණය කර ශ්‍රී ලංකාව දෙපසින් පිහිටා ඇති ප්‍රධාන අක්ෂාංශ නම් කරන්න.

iii. සිතියමෙහි සේයා කර ඇති රටවල් පහ නම් කරන්න.

05. ලෝක ආකෘති සිතියමක,

i. මහාද්වීප හත විවිධ වර්ණවලින් සේයා කර නම් කරන්න.

ii. ඕස්ට්‍රේලියාව හා ඇන්ටාක්ටිකාව හැරුණු විට අනෙක් මහාද්වීප වලින් රටවල් දෙක බැගින් ලකුණු කර නම් කරන්න.

iii. පහත සඳහන් නගර ලකුණු කර නම් කරන්න.

සැන්ප්‍රැන්සිස්කෝ, රියෝද ජැනැයිරෝ, කයිරෝ, ඩැකා

## පැවරුම්



01. සිතියම් පොතක් අධ්‍යයනය කරමින් ඔබ කැමති නගර පහක් තෝරා ගෙන එම නගර ආසන්න ව පිහිදී ඇති දේශාංශය හෝ අක්ෂාංශය ලියා දක්වන්න.

02. කර්කටක නිවර්තනය, මකර නිවර්තනය සහ සමකයෙන් කැපී යන හෝ ඒ මත පිහිටි රටවල් දෙක බැගින් නම් කරන්න.

### ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර


- **https://www.google.lk/?gws_rd=ssl#q=area+in+the+earth**
- **http://www.allfiveoceans.com/2015/12/all-five-oceans-of-world.html**

| පාරිභාෂික වචන | | |
|---|---|---|
| පෘථිවිය | Earth | புவி |
| ග්‍රහලෝකය | Planet | கோள் |
| අක්ෂය | Axis | அச்சு |
| භ්‍රමණය | Rotation | சுழற்சி |
| පරිභ්‍රමණය | Revolution | சுற்றுகை |
| අක්ෂාංශ | Latitudes | அகலக்கோடுகள் |
| දේශාංශ | Longitudes | நெடுங்கோடுகள் |
| අභ්‍යවකාශය | Space | விண்வெளி |
| නිරීක්ෂණය | Observation | அவதானிப்பு |
| සමක පරිධිය | Equatorial circumference | மத்தியகோட்டுச் சுற்றளவு |
| ධ්‍රැව පරිධිය | Polar circumference | முனைவுச் சுற்றளவு |
| විෂ්කම්භය | Diameter | விட்டம் |
| මනඃකල්පිත රේඛා | Imaginary lines | கற்பனைக் கோடுகள் |
| උතුරු අර්ධගෝලය | Northern hemisphere | வட அரைக்கோளம் |
| දකුණු අර්ධගෝලය | Southern hemisphere | தென் அரைக்கோளம் |
| සමකය | Equator | மத்திய கோடு |
| ග්‍රිනිච් මධ්‍ය දේශාංශය | Greenwich meridian | கிறீன்விச் நெடுங்கோடு |
| ජාත්‍යන්තර දින රේඛාව | International Date Line | சர்வதேச திகதிக்கோடு |
| කර්කටක නිවර්තනය | Tropic of Cancer | கடகக்கோடு |
| මකර නිවර්තනය | Tropic of Capricorn | மகரக்கோடு |
| නැගෙනහිර දේශාංශ | East longitudes | கிழக்கு நெடுங்கோடுகள் |

| ආක්ටික් වෘත්තය | Arctic circle | ஆக்டிக் வட்டம் |
|---|---|---|
| ඇන්ටාක්ටික් වෘත්තය | Antarctic circle | அந்தாட்டிக் வட்டம் |
| මහාද්වීප | Continents | கண்டங்கள் |
| සාගර | Oceans | சமுத்திரங்கள் |
| මුහුදු | Seas | கடல்கள் |
| දූපත් | Islands | தீவுகள் |

# 02 ශ්‍රී ලංකාවේ අනන්‍යතාව

ශ්‍රී ලංකාවේ භූගෝලීය හා සමාජයීය අනන්‍යතාව
පිළිබඳ ව අධ්‍යයනය කිරීම මෙම පරිච්ඡේදයේ අරමුණ වේ.





ඕනෑ ම පුද්ගලයකුට තමාගේ දේහ ලක්ෂණ හා චරිත ලක්ෂණ අනුව සුවිශේෂ වූ අනන්‍යතාවක් පවතී. එම අනන්‍යතාව අනුව සමූහයක් අතුරෙන් පුද්ගලයකු වෙන් කර හඳුනාගැනීමේ හැකියාව ඇත. ඒ අයුරින් ම රටකට ද සුවිශේෂ වූ අනන්‍යතාවක් පවතී.




2.1 රූපය - ශ්‍රී ලංකාවේ භූගෝලීය අනන්‍යතාව

# භූගෝලීය අනන්‍යතාව

2.1 රූපය අධ්‍යයනය කිරීමෙන් ශ්‍රී ලංකාවේ භූගෝලීය අනන්‍යතාව පැහැදිලි වේ. 2.1 A සිතියමෙහි දක්වා ඇති පරිදි ශ්‍රී ලංකාව, කර්කටක නිවර්තනයත් මකර නිවර්තනයත් අතර නිවර්තන කලාපයෙහි සමකයට ආසන්න ව පිහිටා ඇත. ශ්‍රී ලංකාව ඉන්දියාවෙන් වෙන් වන්නේ ඉතා පටු නොගැඹුරු මුහුදු තීරයකිනි. එය පෝක් සමුද්‍ර සන්ධිය ලෙස හැඳින්වේ.




2.1 A සිතියම - ශ්‍රී ලංකාවේ පිහිටීම

ආසන්න වටපිටාවෙහි ඇති ගොඩබිම්, සාගර යනාදිය පදනම් කර ගෙන යම්කිසි රටක පිහිටීම දැක්වීම, සාපේක්ෂ පිහිටීම ලෙස හැඳින්වේ. 2.1 B සිතියම නිරීක්ෂණය කොට ශ්‍රී ලංකාවේ සාපේක්ෂ පිහිටීම හඳුනාගන්න. දූපතක් වූ ශ්‍රී ලංකාව, ඉන්දියන් සාගරයේ ඉන්දීය උප මහාද්වීපයට ආසන්න ව, ඉන්දියාවෙන් වෙන් ව පිහිටා ඇත. ශ්‍රී ලංකාව හැරුණු විට ඉන්දියන් සාගරය තුළ පිහිටා ඇති තවත් දූපත් ලෙස මාලදිවයින, අන්දමන් දූපත්, නිකොබාර් දූපත්, ලක්ෂද්වීප දූපත් ආදිය දැක්විය හැකි ය.




2.1 B සිතියම - ශ්‍රී ලංකාවේ සාපේක්ෂ පිහිටීම

## ක්‍රියාකාරකම්



**හිස්තැන් සම්පූර්ණ කරන්න.**

01. ශ්‍රී ලංකාවට උතුරින් .......... මහාද්වීපය ද, දකුණින් .......... සාගරය ද, නැගෙනහිරින් ........... රටවල් ද, බටහිරින් ......... මහාද්වීපය ද පිහිටා ඇත.

02. ශ්‍රී ලංකාවේ වයඹ දිශාවේ පිහිටි දූපත් තුනක් නම් කර ඒවා ශ්‍රී ලංකා ආකෘති සිතියමක ලකුණු කරන්න.

03. ශ්‍රී ලංකාව ඉන්දියාවට ආසන්න ව පිහිටීම නිසා ලැබී ඇති වාසි තුනක් ලියන්න.




2.1 C සිතියම - ශ්‍රී ලංකාවේ නිරපේක්ෂ පිහිටීම
මූලාශ්‍රය : *global.britannica.com 2015/03/13*

අක්ෂාංශ හා දේශාංශ අනුව රටක පිහිටීම දැක්වීම නිරපේක්ෂ පිහිටීම ලෙස හැඳින්වේ. 2.1 C සිතියම මගින් ශ්‍රී ලංකාවේ නිරපේක්ෂ පිහිටීම දැක්වේ. ඒ අනුව ශ්‍රී ලංකාව උතුරු අක්ෂාංශ $5^0 55'$ - $9^0 51'$ අතර ද, නැගෙනහිර දේශාංශ $79^0 41'$ - $81^0 53'$ අතර ද පිහිටා ඇත. *(global.britannica.com 2015/03/13)*

**ශ්‍රී ලංකාවේ මුළු භූමියෙහි වර්ග ප්‍රමාණය**
**65610km²කි.**




2.1 D සිතියම - ශ්‍රී ලංකාවේ විශාලත්වය
මූලාශ්‍රය : *global.britannica.com 2015/03/13*

## ක්‍රියාකාරකම



ශ්‍රී ලංකාවේ විශාලත්වය දැක්වෙන 2.1.D සිතියම නිරීක්ෂණය කොට හිස්තැන් සම්පූර්ණ කරන්න.

ශ්‍රී ලංකාවේ දෙවුන්දර තුඩුවේ සිට ............. තුඩුව දක්වා දිග .............. කි. ............. සිට සංගමන්කන්ද තුඩුව දක්වා පළල ...........කි.




2.1 E සිතියම - ශ්‍රී ලංකාවේ මුහුදු සීමා කලාප

ශ්‍රී ලංකාවට අනන්‍ය වූ දේශ සීමාවක් සහ මුහුදු සීමාවක් ද පවතී. 1994 නොවැම්බර් මස 16 වන දින සිට ක්‍රියාත්මක වූ අන්තර්ජාතික සාගර නීතියට අනුව ලෝකයේ සෑම වෙරළබඩ රාජ්‍යයකට ම වෙරළ මායිමේ සිට නාවික සැතපුම් 12 සීමාවක අයිතිය උරුම කර දෙන ලදි. එය "රාෂ්ට්‍රීය මුහුදු සීමාව" ලෙස හැඳින්වේ. ඊට පිටතින් යාබද මුහුද හා අනන්‍ය ආර්ථික කලාපය පිහිටා ඇත (2.1 E සිතියම).

ශ්‍රී ලංකාව, කුඩා දූපතක් වුව ද ඉතා සුවිශේෂී වූ භූ විෂමතාවකින් යුක්ත ය. රට මධ්‍යයේ පිහිටි කඳුකරය, ඒ වටා පිහිටි අභ්‍යන්තර තැනිතලාව හා වෙරළබඩ තැනිතලාව, දිවයිනේ ප්‍රධාන භූ විෂමතා කලාප තුනකි. මේ එකිනෙක කලාපවල එකිනෙකට වෙනස් වූ සංකීර්ණ විෂමතා ලක්ෂණ දක්නට ලැබේ.

**2.1 වගුව - භූ විෂමතා ලක්ෂණ**

| මධ්‍ය කඳුකරය (උස මීටර 300ට වැඩි) | අභ්‍යන්තර තැනිතලාව (මීටර 30-300 දක්වා) | වෙරළබඩ තැනිතලාව (මීටර 30ට අඩු) |
|---|---|---|
| කඳුවැටි | ශේෂ කඳු | පුළුල් තැනිතලා |
| සානු | හෙල්වැටි | බොකු |
| නිම්න | තැනිතලා | කලපු |
| දියඇලි | | තුඩු |
| කපොලු | | දූපත් |




2.1 F සිතියම - ශ්‍රී ලංකාවේ ප්‍රධාන භූ විෂමතා කලාප

මෙවැනි භූ විෂමතාවකින් සමන්විත ශ්‍රී ලංකාවේ ස්වාභාවික සෞන්දර්ය සහ හිතකර දේශගුණය, අප රටෙහි භූගෝලීය අනන්‍යතාව තවදුරටත් තහවුරු වීමට හේතු වී තිබේ. ශ්‍රී ලංකාවේ පවතින භූ විෂමතාව හා දේශගුණික විවිධත්වය සංචාරක ආකර්ෂණය දිනා ගැනීමට ද සමත් වී ඇත. 2.1 F සිතියමෙන් ශ්‍රී ලංකාවේ ප්‍රධාන භූ විෂමතා කලාප දැක්වේ.

## ක්‍රියාකාරකම්



01. I. ශ්‍රී ලංකා ආකෘති සිතියමක ප්‍රධාන භූ විෂමතා කලාප තුන ඇඳ නම් කරන්න.

II. සිතියම් පොතක් අධ්‍යයනය කර, මධ්‍ය කඳුකරයේ පිහිටි ප්‍රධාන කඳු පද්ධති, සානු, දියඇලි දෙක බැගින් ඔබ අඳින ලද සිතියමෙහි ලකුණු කර නම් කරන්න.

III. අභ්‍යන්තර තැනිතලාවේ පිහිටි ශේෂ කඳු තුනක් සහ වෙරළබඩ තැනිතලාවේ පිහිටි පේද්‍රුරු තුඩුව, දෙවුන්දර තුඩුව, කොළඹ, ත්‍රිකුණාමලය, මඩකලපුව යන ස්ථාන ද ලකුණු කර නම් කරන්න.

02. දිවයිනේ ස්වාභාවික සෞන්දර්ය විදහා දක්වන භූ විෂමතා ලක්ෂණ තුනක් නම් කරන්න.

ශ්‍රී ලංකාව, නිවර්තන කලාපයෙහි පිහිටි රටකි. එබැවින් වාර්ෂික ව 27$^{0}$C-30$^{0}$C පමණ ඉහළ උෂ්ණත්වයක් පවතී. ශීත ඍතුවක් දක්නට නොලැබේ. දූපතක් වූ ශ්‍රී ලංකාවට වර්ෂය මුළුල්ලේ ම පැතිරුණු වර්ෂාපතනයක් ලැබේ. වර්ෂාපතනය ලැබෙන ප්‍රධාන ක්‍රම තුනකි. එනම්,

- මෝසම් වර්ෂාව
- සංවහන වර්ෂාව
- වාසුළි වර්ෂාව



පෙබරවාරි සහ අගෝස්තු මාසවල දී ශ්‍රී ලංකාවට සාමාන්‍යයෙන් වියළි කාලගුණයක් පවතී. කුඹුරුවල වී අස්වනු නෙළීම සිදු වන්නේ මේ කාලයේ දී ය.

වර්ෂය පුරා පැතිර පවත්නා අධික වර්ෂාපතනය හා උෂ්ණත්වය හේතුකොට ගෙන දිවයිනේ තෙත් ප්‍රදේශවල වනාන්තර ආශ්‍රිත ව උසින් වැඩි ශාක ව්‍යාප්ත ව පවතී. වර්ෂාපතනය, උෂ්ණත්වය මෙන් ම උච්චත්වයේ වෙනස්කම් හේතුකොට ගෙන කඳුකර ප්‍රදේශවල උසින් අඩු ශාක ද, සානු ප්‍රදේශ ආශ්‍රිත ව පතන හා තෘණ තලාවන් ද දැකිය හැකි ය. වියළි දේශගුණයක් පවතින වියළි හා අර්ධ ශුෂ්ක ප්‍රදේශවල කටු පඳුරු සහිත වන ලැහැබ් ද වෙරළාශ්‍රිත කලපු සහ ගංගා මෝයවල කඩොලාන ශාක ද දක්නට ලැබේ.




2.2 රූපය - ශ්‍රී ලංකාවේ විවිධ ප්‍රදේශවල වැවෙන ශාකවල ස්වභාවය

ශ්‍රී ලංකාවේ වෙරළාශ්‍රිත ප්‍රදේශයක සිට රට තුළට ගමන් කරන සංචාරකයකුට 70kmක් වැනි කෙටි දුරක දී භූ විෂමතාව, දේශගුණය හා වන වැස්මේ විවිධත්වය දැකගත හැකි වනවා මෙන් ම එහි සුන්දරත්වය ද අත්විඳිය හැකි ය.

## ක්‍රියාකාරකම



**හිස්තැන් සම්පූර්ණ කරන්න.**

ශ්‍රී ලංකාව .............. කලාපයේ පිහිටි රටකි. එබැවින් ............ ක පමණ ඉහළ උෂ්ණත්වයක් පවතී. වර්ෂය මුළුල්ලේ ම වාගේ ............, ............ සහ ............ යන ක්‍රමවලින් වර්ෂාපතනය ලැබීම ද විශේෂත්වයකි. වර්ෂාපතනය ............ හා ............ වෙනස්කම් නිසා එක් එක් ප්‍රදේශවල දක්නට ලැබෙන ශාකවල විවිධත්වයක් පවතී.

# සමාජයීය අනන්‍යතාව




2.3 රූපය - ශ්‍රී ලංකාවේ සමාජයීය අනන්‍යතාව

## ජන සමාජය

ශ්‍රී ලංකාවේ ජන සමාජය, සිංහල, දෙමළ, මුස්ලිම්, බර්ගර් වැනි විවිධ ජන වර්ගවලින් ද බෞද්ධ, හින්දු, ඉස්ලාම්, ක්‍රිස්තියානි වැනි විවිධ ආගම් අදහන අයගෙන් ද සමන්විත ය. එබැවින් බහු වාර්ගික සහ බහු ආගමික සංස්කෘතියක් ඇති රටක් ලෙස ශ්‍රී ලංකාව හැඳින්වේ. ඔවුනොවුන් විසින් උරුම කර ගත් සම්ප්‍රදායන්, සිරිත් විරිත්, ඇදහිලි, පුද සිරිත්, ඇඳුම් පැළඳුම් හා භාෂාව අනුව සමාජයීය අනන්‍යතාවක් ගොඩනගා ගෙන ඇත.

**ශ්‍රී ලංකාව තුළ ජීවත් වන බහු වාර්ගික හා බහු ආගමික පිරිසක් වන අපි සියලු දෙනා ම ලක්වැසියෝ වෙමු.**

## ජාතික උරුම

බහු වාර්ගික හා බහු ආගමික ජන සමාජයක් ලෙස පැවත එන ශ්‍රී ලංකාවේ, විවිධ ජාතික උරුම මෙන් ම විවිධ සංස්කෘතිකාංග ද දක්නට ලැබේ. ජාතික උරුම මගින් ද රටක අනන්‍යතාව විදහා දැක්වේ. ජාතික උරුම පහත දැක්වෙන පරිදි වෙන් කර හඳුනාගත හැකි ය.




**ඈත අතීතයේ සිට ම ලක්වැසි ජනතාව ආගන්තුක සත්කාරයට කැමති ජාතියක් බව පෙර අපර දෙදිග රටවල් අතර ප්‍රසිද්ධ ය.**

2.2 සිතියමෙන් ශ්‍රී ලංකාවේ ජාතික උරුම දැක්වේ.

අගනගරය
පළාත් නගර
නගර
ජාතික උද්‍යාන
ජලාශ
මාර්ග/අධිවේගී මාර්ග
ගංගා/ඇළ මාර්ග

කන්කසන්තුරේ
පේදුරු තුඩුව
නල්ලූර් කෝවිල
යාපනය
චුන්ඩිකුලම් කුරුලු අභයභූමිය
කිලිනොච්චිය
මුලතිව්
මන්නාරම
මඩුපල්ලිය
වව්නියාව
නිලාවෙලි
කෝනේෂ්වරම් කෝවිල
ත්‍රිකුණාමලය
විල්පත්තු ජාතික වනෝද්‍යානය
අනුරාධපුරය
මිහින්තලේ
කවුඩුල්ල ජාතික වනෝද්‍යානය
පුත්තලම
අවුකන
සීගිරිය
පාසිකුඩා
පොළොන්නරුව
පරාක්‍රම සමුද්‍රය
දිඹුලාගල
දඹුල්ල
මුන්නේශ්වරම් කෝවිල
මඩකලපුව
මාදුරු ඔය ජාතික වනෝද්‍යානය
කුරුණෑගල
පින්නවල අලි අනාථාගාරය
මාතලේ
මහියංගනය
මහනුවර දළදා මන්දිරය
අම්පාර
කෑගල්ල
බදුල්ල
නුවරඑළිය
දුන්හිඳ ඇල්ල
හග්ගල
කොළඹ
කැළණිය
ශ්‍රී පාදය
උද්භිද උද්‍යානය
හෝර්ටන් තැන්න
රාවණා ඇල්ල
මොණරාගල
පොතුවිල්
ලෝකාන්තය
රත්නපුරය
දියලුම ඇල්ල
කුමන කුරුලු අභයභූමිය
කළුතර
උඩවලව ජාතික වනෝද්‍යානය
යාල ජාතික වනෝද්‍යානය
කුමන
සිංහරාජ වනාන්තරය
කතරගම
තිස්සමහාරාමය
හික්කඩුව වෙරළ තීරය
බුන්දල කුරුලු අභය භූමිය
හම්බන්තොට
ගාල්ල
මාතර



2.2 සිතියම - ශ්‍රී ලංකාවේ ජාතික උරුම

## ලෝක උරුම

ශ්‍රී ලංකාව සතු ජාතික උරුමයන්ගේ සුවිශේෂී බව නිසා ඇතැම් ජාතික උරුම, ජාත්‍යන්තර වශයෙන් ලෝක උරුම ලෙස පිළිගෙන ඇත. එබැවින් ගෝලීය වශයෙන් ද සුවිශේෂ වූ අනන්‍යතාවක් ශ්‍රී ලංකාවට හිමි ව තිබේ. විදේශීය සංචාරක ආකර්ෂණය දිනාගෙන ඇති ශ්‍රී ලංකාව, පෙරදිග රටවල් අතර සංචාරක කේන්ද්‍රයක් මෙන් ම ගමනාන්තයක් බවට ද පත් ව ඇත. **මෙම ලෝක උරුම මානව නිර්මිත හා ස්වාභාවික නිර්මිත වශයෙන් බෙදා දැක්විය හැකි ය.**




## ආදිවාසී ජනතාව

- ශ්‍රී ලංකාවේ සමාජයීය අනන්‍යතාව පිළිබඳ ව සලකා බැලීමේ දී විවිධ ප්‍රදේශවල ජීවත්වන ආදිවාසීන් ද අප රටට සුවිශේෂත්වයක් ගෙන දේ. මහියංගනය, දඹාන, හෙන්නානිගල වැනි ප්‍රදේශවල වාසය කරන ඔවුහු තමන්ට ආවේණික වූ භාෂාව, සිරිත් විරිත්, ඇඳුම් පැළඳුම්, මෙවලම් හා සංස්කෘතික අංග යනාදිය රැක ගනිමින් දිවි ගෙවති. පරිසරයට අනුවර්තනය වෙමින් කරනු ලබන හේන් වගාව, දඩයම් කිරීම සහ වනද්‍රව්‍ය එක්රැස් කිරීම ඔවුන්ගේ ජීවනෝපාය මාර්ග වේ.

- වියළි කලාපය සංවර්ධන ක්‍රියාවලියේ දී මහවැලි ගොවි ජනපදයක් වන හෙන්නානිගල ආශ්‍රිත ව පදිංචි කරන ලද ආදිවාසී ජනතාව, මේ වන විට විධිමත් පාසල් අධ්‍යාපනයේ නිරත වන, උසස් අධ්‍යාපනයට ප්‍රවේශ වන හා නවීන විද්‍යුත් මෙවලම් භාවිත කරමින් නූතන ජන සමාජයට අනුවර්තනය වන ජන කොටසක් බවට පත් ව ඇත. එසේ වුවද පැරණි සංස්කෘතික උරුම ආරක්ෂා කිරීමට මෙන් ම පරිසර සංරක්ෂණයට ද ඔවුන් ලබා දෙන දායකත්වය අගය කළ යුතු ය.

## සංස්කෘතිකාංග සහ උත්සව

- ශ්‍රී ලාංකික ජන සමාජයේ විවිධ ජාතීන්, ආගම් සහ ජන ගෝත්‍රවලින් උරුම වූ විවිධ සංස්කෘතිකාංග සහ විවිධ උත්සව යනාදියෙහි ද, අනන්‍යතාවක් පවතී. එවැනි අනන්‍යතාවක් සහිත සංස්කෘතික උත්සව සහ සංස්කෘතිකාංග කිහිපයක් පහත දැක්වේ.

වෙසක්/ පොසොන් උත්සවය
මඩු මංගල්‍ය උත්සවය
දීපාවලි උත්සවය
රාමසාන් උත්සවය
මහනුවර දළදා පෙරහැර
සිංහල දෙමළ අලුත් අවුරුදු උත්සවය
නත්තල් උත්සවය

### ක්‍රියාකාරකම්



01. ශ්‍රී ලාංකිකයන් සතු ස්පෘශ්‍ය උරුම අතරින් මානව නිර්මිත හා ස්වාභාවික නිර්මිත උරුම පහ බැගින් ලියා දක්වන්න.

02. ශ්‍රී ලංකාවේ ජාත්‍යන්තර පිළිගැනීමට පත් ලෝක උරුම ඇතුළත් කරමින් පින්තූර පුවරුවක් සකස් කර ඔබේ පන්ති කාමරයෙහි ප්‍රදර්ශනය කරන්න.

03. විවිධ ජාතික හා ආගමික උත්සව ඇතුළත් පින්තූර පොතක් සකස් කරන්න.

## සමාජ සංවර්ධනය

ශ්‍රී ලංකාව, දකුණු ආසියානු කලාපයට අයත් රටකි. (2.3 සිතියම) මෙම කලාපයේ රටවල් අතර ඉහළ සමාජයීය සංවර්ධනයක් ඇති රටක් ලෙස ශ්‍රී ලංකාව හඳුනාගත හැකි ය.




2.3 සිතියම - දකුණු ආසියානු කලාපය

විවිධ මිනුම් හා නිර්ණායක පදනම් කර ගනිමින් රටවල සමාජ සංවර්ධන මට්ටම් හඳුනාගෙන ඇත. 2.2 වගුවේ දැක්වෙන්නේ දකුණු ආසියානු කලාපීය රටවල්වල ක්ෂේත්‍ර කිහිපයක සමාජ සංවර්ධනය සසඳා බැලිය හැකි දත්ත සමූහයකි.

**2.2 වගුව - දකුණු ආසියාතික රටවල සමාජ සංවර්ධන දත්ත**

| රට / සමාජ සංවර්ධන දත්ත | ඉන්දියාව | පාකිස්ථානය | බංග්ලාදේශය | නේපාලය | ශ්‍රී ලංකාව | භූතානය | මාලදිවයින |
|---|---|---|---|---|---|---|---|
| ආයු අපේක්ෂාව (අවු) (2012) | 65.8 | 65.7 | 69.2 | 69.1 | 75.1 | 67.6 | 77.1 |
| සාක්ෂරතාව % අවු.15 සහ ඉහළ (2010) | (2006) 63 | (2009) 54.5 | 56.75 | 60.65 | 92 | ලැබී නැත | (2006) 98 |
| උපත් අනුපාතිකය 1000ට (2010) | 22.2 | 27.3 | 20.3 | 24.1 | 17.6 | 20.4 | 16.8 |
| ළදරු මරණ අනුපාතිකය සජීවී උපත් 1000ට (2010) | 48 | 70 | 38 | 41 | 14 | 44 | 14 |
| මාතෘ මරණ අනුපාතිකය 1000 ට (2010) | 200 | 260 | 240 | 170 | 35 | 180 | 60 |

මූලාශ්‍රය : ශ්‍රී ලංකා සමාජ ආර්ථික දත්ත - 2014

**ශ්‍රී ලංකාවේ සාක්ෂරතාව 92% කි. එය සෙසු දකුණු ආසියානු රටවල් අතුරෙන් දෙවැනි වන්නේ මාලදිවයිනට පමණි.**

ශ්‍රී ලංකාව ආර්ථික වශයෙන් සංවර්ධනය වන රටක් වුව ද සමාජයීය සංවර්ධනය අතින් ඉහළ මට්ටමක් හිමි කර ගෙන ඇත. ඊට බලපා ඇති සාධක කිහිපයක් මතු දැක්වේ.

**පෝෂ්‍යදායී ආහාර වේලක් ලබා ගත හැකි වීම**



- ලෙඩ රෝගවලට ඔරොත්තු දීමේ ශක්තිය වැඩි වීම
- කායික හා මානසික පෝෂණය වැඩි වීම.
- ආයු අපේක්ෂාව වැඩිදියුණු වීම.

**වෛද්‍ය හා සෞඛ්‍ය ක්ෂේත්‍රයේ පහසුකම් වැඩිදියුණු වීම**



- ආයු අපේක්ෂාව වැඩි වීම
- ළදරු මරණ අඩු වීම
- මාතෘ මරණ අඩු වීම

**අධ්‍යාපන පහසුකම් වැඩිදියුණු වීම**



- සාක්ෂරතාව වැඩිදියුණු වීම
- ජීවන මට්ටම් ඉහළ යාම
- හොඳ රැකියා අවස්ථා ඇති වීම
- සෞඛ්‍ය සම්පන්න ජීවිතයක් ගත කිරීමට පෙළඹීම
- යහපත් ආකල්ප ඇති වීම

ශ්‍රී ලංකාවේ සමාජ සංවර්ධනය උසස් මට්ටමක පැවතීම කෙරෙහි ඉහත දැක්වෙන සාධක මෙන් ම අධ්‍යාපන හා සෞඛ්‍ය පහසුකම් නොමිලේ ලබා දීම වැනි රාජ්‍ය සුභසාධන ප්‍රතිපත්ති ද බලපා ඇත.



## ක්‍රියාකාරකම්



01. දේශපාලන බෙදීම් සහිත සිතියමකින් දකුණු ආසියානු කලාපයට අයත් රටවල් ලකුණු කර කපා වෙන් කරන්න. එම කැබලි කඩදාසියක නිවැරදි ව අලවා විවිධ වර්ණවලින් පාට කර දකුණු ආසියානු කලාපීය රටවල් නම් කර දක්වන්න.

02. එම සිතියම අධ්‍යයනය කොට ශ්‍රී ලංකාවේ පිහිටීම පිළිබඳ ව වාක්‍ය තුනක් ලියන්න.

03. 2.2 වගුවට අනුව සාක්ෂරතාව ඉහළ මට්ටමක ඇති රටවල් දෙකක් නම් කරන්න.

04. ශ්‍රී ලංකාවේ සාක්ෂරතාව ඉහළ අගයක් ගැනීම කෙරෙහි බලපා ඇති කරුණු තුනක් ලියන්න.

05. ජනතාවගේ සාක්ෂරතාව ඉහළ මට්ටමක පැවතීම නිසා රටකට ලබාගත හැකි වාසි තුනක් ලියන්න.

06. ශ්‍රී ලංකාවේ ආයු අපේක්ෂාව ඉහළ මට්ටමක පැවතීමට බලපා ඇති හේතු දෙකක් ලියන්න.

පැවරුම්



01. i. ගුරු උපදෙස් අනුව ශ්‍රී ලංකාවේ ප්‍රධාන භූ විෂමතා කලාප ආවරණය වන පරිදි චාරිකාවක් සැලසුම් කර ගෙන අධ්‍යාපන චාරිකාවක යෙදෙන්න.

ii. චාරිකාවේ දී ඔබ දුටු භූ විෂමතා ලක්ෂණ, දේශගුණික හා පාරිසරික විවිධත්වය පිළිබඳ ව රචනාවක් ලියන්න.

iii. ඔබ ලබාගත් අත්දැකීම් පදනම් කර ගෙන ශ්‍රී ලංකාවේ භූගෝලීය අනන්‍යතාව කෙරෙහි බලපා ඇති ස්වාභාවික සෞන්දර්ය අගය කරන්න.

02. ඔබ ප්‍රදේශයට වර්ෂාපතනය ලැබෙන ක්‍රම, කාල සීමාව හා එම වර්ෂාවෙහි විශේෂ ලක්ෂණ හඳුනා ගෙන ඒ පිළිබඳ ව වාක්‍ය පහක් ලියන්න.

03. ගුරු උපදෙස් ලබා ගනිමින් ඔබ ප්‍රදේශයට ආවේණික ව පවතින ජාතික උරුම සහ සංස්කෘතිකාංග පිළිබඳ තොරතුරු රැස් කර ගොනුවක් සකස් කරන්න.

04. සාක්ෂරතාව සහ ආයු අපේක්ෂාව වැඩි කර ගැනීම සඳහා මහජනතාව දැනුවත් කළ හැකි ආකාරයේ පත්‍රිකාවක් සකස් කරන්න.

## ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර

- ශ්‍රී ලංකා සමාජ ආර්ථික දත්ත (2014), මහ බැංකු වාර්තාව.
- global.britannica.com/EB checked/topic/561906/Sri-Lanka
- www.wikipedia.lk

| පාරිභාෂික වචන | | |
|---|---|---|
| අනන්‍යතාව | Identity | தனித்துவம் |
| භූගෝලීය අනන්‍යතාව | Geographical identity | புவியியல் தனித்துவம் |
| සමාජයීය අනන්‍යතාව | Social identity | சமூகத் தனித்துவம் |
| සමුද්‍ර සන්ධිය | Strait | சமுத்திர நீரிணை |
| සාපේක්ෂ පිහිටීම | Relative location | சார்பு அமைவிடம் |
| නිරපේක්ෂ පිහිටීම | Specific location | தனி அமைவிடம் |
| නාවික සැතපුම් | Nautical miles | கடல் மைல் |
| අනන්‍ය ආර්ථික කලාපය | Exclusive Economic Zone | பிரத்தியேக பொருளாதார வலயம் |
| රාජ්‍යය මුහුදු සීමාව | Territorial sea limit | ஆள்புல கடல் எல்லை |
| ස්වාභාවික සෞන්දර්යය | Natural beauty | இயற்கை அழகு |
| දේශගුණික විවිධත්වය | Climatic diversity | காலநிலைப் பல்வகைமை |
| සංචාරක ආකර්ෂණය | Tourist attraction | சுற்றுலாக் கவர்ச்சி |
| අභ්‍යන්තර තැනිතලාව | Intermediate plain | உள்ளக சமவெளி |
| ශීත ඍතුව | Winter | மாரி |
| වර්ෂාපතනය | Rainfall | மழைவீழ்ச்சி |
| මෝසම් වර්ෂාව | Monsoon rain | பருவக்காற்று மழை |
| සංවහන වර්ෂාව | Convectional rain | மேற்காவுகை மழை |
| වාසුළිය | Cyclone | சூறாவளிகள் |

| | | |
|---|---|---|
| වායු කැලඹීම | Air disturbance | வளி அமுக்கம் |
| සදාහරිත වනාන්තර | Evergreen forests | என்றும் பசுமையான காடுகள் |
| උන්නතාංශය | Altitude | குத்துயரம் |
| ශුෂ්ක ප්‍රදේශ | Arid areas | வரண்ட பகுதிகள் |
| බහු වාර්ගික | Multi-racial | பல்லின |
| බහු ආගමික | Multi-religious | பல்சமய |
| සංස්කෘතික උරුම | Cultural heritages | கலாசார மரபுரிமைகள் |
| ලෝක උරුම | World heritages | உலக மரபுரிமைகள் |
| ස්පෘශ්‍ය උරුම | Tangible heritages | காணக்கூடிய மரபுரிமைகள் |
| අස්පෘශ්‍ය උරුම | Intangible heritages | காணமுடியாத மரபுரிமைகள் |
| සංචාරක කේන්ද්‍රය | Tourist hub | சுற்றுலா மையம் |
| ගමනාන්තය | Destination | அடைகை |
| ආදිවාසී ජනතාව | Indigenous people | ஆதிவாசி மக்கள் |
| දකුණු ආසියානු කලාපය | South Asian region | தென் ஆசியப்பிரதேசம் |
| ආයු අපේක්ෂාව | Life expectancy | ஆயுள் எதிர்பார்ப்பு |
| සාක්ෂරතාව | Literacy | எழுத்தறிவு |
| උපත් අනුපාතිකය | Birth rate | பிறப்பு விகிதம் |
| ළදරු මරණ අනුපාතිකය | Infant mortality rate | சிசு மரண விகிதம் |
| මාතෘ මරණ අනුපාතිකය | Maternal mortality rate | பிரவச மரண விகிதம் |
| සජීවී උපත් | Live births | உயிர் பிறப்புக்கள் |

# 03 ශ්‍රී ලංකාවේ භූ දර්ශනය

ශ්‍රී ලංකාවේ කඳුකර භූ දර්ශනය, වියළි කලාපීය භූ දර්ශනය, තෙත් කලාපීය භූ දර්ශනය, යාපන අර්ධද්වීපය හා යාබද දූපත් ආශ්‍රිත භූ දර්ශනය සහ වෙරළ තීරය ආශ්‍රිත භූ දර්ශනය යන ප්‍රාදේශීය භූ දර්ශන ද ඒවාට ආවේණික සුවිශේෂී ලක්ෂණ පිළිබඳ ව ද අධ්‍යයනය කිරීම මෙම පරිච්ඡේදයේ මූලික අරමුණ වේ.





ඉන්දියන් සාගරයේ පිහිටි දූපතක් වන ශ්‍රී ලංකාවට 65610km$^2$ක් පමණ විශාල වූ භූමි ප්‍රමාණයක් අයත් වේ. මෙම භූමි ප්‍රදේශය තුළ විවිධ භෞතික හා මානුෂ ලක්ෂණවලින් සමන්විත එකිනෙකට වෙනස් කැපී පෙනෙන භූ දර්ශන කිහිපයක් හඳුනාගත හැකි ය.




3.1 රූපය - ශ්‍රී ලංකාවේ ප්‍රාදේශීය භූ දර්ශනයේ විවිධත්වය

## කඳුකර භූ දර්ශනය

මුහුදු මට්ටමේ සිට 300mට වඩා උසින් යුක්ත බිම්වල කඳුකර භූ දර්ශනයක් දැකිය හැකි ය. ප්‍රධාන වශයෙන් ශ්‍රී ලංකාවේ මධ්‍යම කඳුකරයේ ද සබරගමු කඳුකරයේ ද මෙවැනි භූ දර්ශන ඇත. ශ්‍රී ලංකාවේ සෙසු භූ දර්ශන හා සසඳන විට සංකීර්ණ වූ භෞතික භූ දර්ශනයක් මෙම කලාප තුළ හඳුනාගත හැකි ය.




3.2 රූපය - ශ්‍රී ලංකාවේ කඳුකර භූ දර්ශනය

**කායික හා මානසික සහනය සලසන සුවදායි භූ දර්ශනයකි.**

## ක්‍රියාකාරකම



3.2 රූපය නිරීක්ෂණය කොට කඳුකර භූ දර්ශනයෙහි දක්නට ලැබෙන ලක්ෂණ ඇසුරෙන් මතු දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| කඳුවැටි | දියඇලි | සානු |
| --- | --- | --- |
| | | |

- කඳුවැටි හා සානු, උස් කඳු මුදුන්වලින් ගලා බසින ගංගා, බෑවුම් ඔස්සේ ඇද හැළෙන දියඇලි, කපොලු වැනි කැපී පෙනෙන භෞතික ලක්ෂණ කඳුකර භූ දර්ශනයෙහි දක්නට ලැබේ.
- භූ විෂමතාවට හා දේශගුණයට අනුකූල ව වැඩුණු වෘක්ෂලතා වැස්මකින් සමන්විත ය.
- තේ වගාව හා බැඳුණු භූ දර්ශනය ද කඳුකරයට සුවිශේෂී වේ. තේ කර්මාන්තශාලා, විශාල කම්කරු පිරිස්, කම්කරු නිවාස, දියුණු මාර්ග පද්ධතිය මෙන් ම වතුවල සේවය කරන ජනතාවට ආවේණික වූ සංස්කෘතිය ද කැපී පෙනේ.
- භූ විෂමතාවට අනුකූල ව ගොඩනැගුණු වංගු සහිත මාර්ග ජාලය හා කඳු බෑවුම්වල පිහිටි නිවාස ද කඳුකර භූ දර්ශනයෙහි විශේෂ ලක්ෂණ වේ.
- වාණිජ පදනමකින් කෙරෙන එළවළු, පලතුරු සහ මල්වගාව මෙන් ම තෘණ බිම් ආශ්‍රිත ව සත්ත්වපාලන ගොවිබිම් ද මෙම කලාපයෙහි දක්නට ලැබේ.
- දෙස් විදෙස් සංචාරකයෝ කඳුකරය ඉතා ප්‍රිය කරති. එබැවින් සංචාරක කර්මාන්තය ද ඒ හා බැඳුණු හෝටල්, සංචාරක බංගලා මෙන් ම විවේකය, විනෝදය හා ක්‍රීඩා කටයුතු සඳහා වෙන් වූ බිම් ප්‍රදේශ ද මෙම කලාපයේ භූ දර්ශනයෙහි ප්‍රධාන අංග වේ.

## ක්‍රියාකාරකම්



01. කඳුකර භූ දර්ශනයේ කැපී පෙනෙන භෞතික ලක්ෂණ නම් කරන්න.
02. කඳුකර භූ දර්ශනයක් සහිත කලාපවල දක්නට ලැබෙන මානුෂ ක්‍රියාකාරකම් ඇතුළත් ලේඛනයක් සකස් කරන්න.
03. කඳුකර භූ දර්ශනයක් චිත්‍රයට නගන්න.
04. කඳුකරයේ මානුෂ භූ දර්ශනය කෙරෙහි භෞතික සාධක බලපා ඇති ආකාරය පැහැදිලි කරන්න.
05. ශ්‍රී ලංකාවේ මධ්‍ය කඳුකරය දැක්වෙන සිතියමක කඳුවැටි, සානු, දියඇලි සහ කපොලු දෙක බැගින් ලකුණු කර නම් කරන්න.

## වියළි කලාපීය භූ දර්ශනය

ශ්‍රී ලංකාවේ වාරි ශිෂ්ටාචාරය ආරම්භ වූ ප්‍රදේශ ලෙස මෙම කලාපය හැඳින්විය හැකි ය. ප්‍රධාන වශයෙන් උතුර, උතුරු මැද, නැගෙනහිර සහ ගිනිකොනදිග ප්‍රදේශවල ද වියළි කලාපීය භූ දර්ශන දැකිය හැකි ය. දැඩි නියඟය, අධික උෂ්ණත්වය, අවිනිශ්චිත සහ අඩු වර්ෂාපතනය, ඉහළ වාෂ්පීකරණය වැනි සාධක මත වියළි කලාපීය භූ දර්ශනයේ පදනම සකස් වී තිබේ. වියළි කලාපීය පරිසරයට අනුරූප ව ගොඩනැගුණු මානුෂ භූ දර්ශනයක් ද දක්නට ලැබේ.

- පුළුල් තැනිතලා හා අතරින් පතර පිහිටි ශේෂ කඳු, වර්ෂයේ එක් කාලයක දී සිඳී යන ගංගා, උස් කඳන්, තද අරටු සහිත ගස්වලින් යුත් වනාන්තර වියළි කලාපයේ භෞතික භූ දර්ශනයේ කැපී පෙනෙන ලක්ෂණ වේ.
- ශ්‍රී ලංකාවේ වයඹදිග ප්‍රදේශයේ මන්නාරම, පුත්තලම මෙන් ම ගිනිකොනදිග ප්‍රදේශයේ හම්බන්තොට වැනි ප්‍රදේශවල පවතින ශුෂ්ක දේශගුණයට අනුරූපී ව වැඩුණු තෘණ, කටු පඳුරු සහිත ලඳු කැළෑ ද භූ දර්ශනයේ විශේෂිත ලක්ෂණ ය.
- සීගිරිය, දඹුල්ල, රිටිගල, කතරගම මෙම කලාපයේ පිහිටි ශේෂ කඳු කිහිපයකි. ශේෂ කන්දක් වූ සීගිරිය, පිහිටීම අනුව පුරාණයේ සිට ම ආරක්ෂක බලකොටුවක් ලෙස ද ප්‍රකට ය.
- වියළි කලාපයේ කුඩා හෙල්වැටි අතරින් ගලා බස්නා ගංගා හරස් කොට ඉදිකරන ලද වැව් ද භූ දර්ශනයේ කැපී පෙනේ. වර්ෂා ජලය හා මහවැලි ගංගාවේ ජලය මගින් මෙම වැව් වැඩි කොටසක් පෝෂණය වේ. වාරි ජලය පදනම් කර ගෙන වියළි කලාපයේ විශාල බිම් ප්‍රමාණයක වී වගා කෙරේ. වී ගොවිතැන ආශ්‍රිත ව සහල් මෝල්, සහල් පිටි ආශ්‍රිත කර්මාන්ත ද බිහි වී ඇත.




3.3 රූපය - ශ්‍රී ලංකාවේ වියළි කලාපීය භූ දර්ශනය

**ශ්‍රී ලංකාවේ අතීත වාරි ශිෂ්ටාචාරයට ආවේණික වූ ලක්ෂණ, වර්තමාන වියළි කලාපීය භූ දර්ශනයේ මානුෂ සලකුණ යි.**

- සියලු පහසුකම් සහිත ව සැලසුම් කරන ලද මහවැලි ජනාවාස වියළි කලාපීය භූ දර්ශනයේ කැපී පෙනේ.

- වර්ෂාව මත රඳා පවතින හේන් වගාව ද මෙම කලාපයේ ප්‍රධාන අංගයකි. දඹු වැට, කුඩා පැළ, භෝග වගා කොට ඇති හේන, වියළි කලාපීය භූ දර්ශනයෙහි ක්‍රමයෙන් වෙනස් වී ගෙන යන ලක්ෂණයකි.

- වියළි කලාපීය භූ දර්ශනය තුළ යාල, විල්පත්තු, කුමන වැනි අභයභූමි ද සෝමාවතිය, මාදුරුඔය, වස්ගමුව වැනි වනෝද්‍යාන ද දක්නට ලැබේ.

- නිරතුරු ව ජනතාව වන්දනාමාන කරන විවිධ ආගමික සිද්ධස්ථාන මෙම භූ දර්ශනයේ කැපී පෙනෙන ලක්ෂණයකි. අනුරාධපුරයේ ශ්‍රී මහා බෝධිය සහ චෛත්‍ය, මන්නාරමේ මඩු දේවස්ථානය, ත්‍රිකුණාමලයේ කෝනේශ්වරම් කෝවිල, කතරගම ස්කන්ධකුමාර දේවාලය, නැගෙනහිර ප්‍රදේශවල ඉස්ලාම් දේවස්ථාන යනාදිය නිදසුන් ලෙස දැක්විය හැකි ය.

### ක්‍රියාකාරකම්



01. වියළි කලාපයේ භෞතික සහ මානුෂ භූ දර්ශනයේ කැපී පෙනෙන ලක්ෂණ වෙන් වෙන් ව ලියන්න.
02. ජල හිඟයට පිළියමක් ලෙස වියළි කලාපීය වැසියන් අනුගමනය කර ඇති විසඳුම් මොනවා ද?
03. ශ්‍රී ලංකා ආකෘති සිතියමක අනුරාධපුරය, මඩු දේවස්ථානය, කතරගම, සීගිරිය, විල්පත්තු අභය භූමිය, සෝමාවතී වනෝද්‍යානය සහ වියළි කලාපයේ ඇති වැව් පහක් ලකුණු කර නම් කරන්න.

## තෙත් කලාපීය භූ දර්ශනය

ශ්‍රී ලංකාවේ නිරිත හා බටහිර ප්‍රදේශ, මධ්‍යම කඳුකරයේ බටහිර බෑවුම්වල තෙත් කලාපීය භූ දර්ශනයක් දැකි ය හැකි ය.




3.4 රූපය - ශ්‍රී ලංකාවේ තෙත් කලාපීය භූ දර්ශනය

**දිනපතා එහා මෙහා යන ජනතාව, රථවාහන මෙන් ම සේවා කටයුතු මගින් නිර්මාණය වී ඇති සජීවී බව මෙම කලාපයේ විශේෂ ලක්ෂණයකි.**

- තැනිතලා, හෙල්වැටි, වර්ෂය මුළුල්ලේ ම ගලා බස්නා ගංගා, වගුරු බිම් යනාදියෙන් සමන්විත භෞතික භූ දර්ශනයක් ද එයට ආවේණික වූ සාරවත් වෘක්ෂලතා වැස්ම හා ජෛව විවිධත්වය ද තෙත් කලාපීය භූ දර්ශනයෙහි කැපී පෙනෙන ලක්ෂණ වේ.

- අධික වර්ෂාපතනය නිසා නිතර ජලගැලීම් සහ නායයෑම්වලට ලක්වීමෙන් භූ දර්ශනය නිරතුරු ව වෙනස් වේ.

- වර්ෂාව අධික බැවින් ගංගා පිටාර ගැලීම නිසා ගංගා නිම්න දිගේ නිර්මාණය වී ඇති පිටාර තැනි, සාරවත් ගොවිබිම් බවට පත් ව තිබේ. කැලණි ගඟේ පිටාර තැනි ආශ්‍රිත ව එළවළු සහ කොරටු වගාව ප්‍රධාන වේ.

- අධික ජන සංඛ්‍යාවක් වාසය කරන මෙම කලාපයේ භෞතික භූ දර්ශනය මත ගොඩනැගුණු මානුෂ භූ දර්ශනය ද සංකීර්ණ ලක්ෂණවලින් සමන්විත ය.

- වෙරළාශ්‍රිත ව පොල් වගාව, ගංගා නිම්නවල වී වගාව, කඳු බෑවුම්වල රබර් සහ තේ වගාව යනාදී වශයෙන් විවිධ වූ කෘෂි භූමි පරිභෝග රටා තෙත් කලාපයේ දක්නට ලැබේ.

- නාගරික, කාර්මික හා සේවා මධ්‍යස්ථාන ලෙස වැදගත් වන කොළඹ, ගම්පහ, මාතර, ගාල්ල, මීගමුව, මහනුවර, කළුතර වැනි නගර, මෙම භූ දර්ශනය තුළ හඳුනාගත හැකි විශේෂ ලක්ෂණ වේ.

- කටුනායක, කොග්ගල, බියගම වැනි නිදහස් වෙළෙඳ කලාප බිහිවීමත්, රත්මලාන, ඒකල නගර ආශ්‍රිත ව කාර්මික ජනපද ඇතිවීමත් නිසා රැකියා සොයා ප්‍රධාන නගර කරා සංක්‍රමණය වූ ජනතාව තෙත් කලාපයේ ඒකරාශී වී ඇත.

- රෝහල්, පාසල්, පොලීසි, බැංකු, උසාවි, සාප්පු සංකීර්ණ මෙන් ම භූමි ප්‍රමාණය සීමිත බැවින් සිරස් අතට ඉදිවූ තට්ටු ගොඩනැගිලි යනාදියෙන් ද තෙත් කලාපීය භූ දර්ශනයේ සංකීර්ණ බව ඉස්මතු වී පෙනේ. මානුෂ අවශ්‍යතා සපුරා ගැනීමට වඩාත් පහසු වන සේ සංවර්ධනය වූ යටිතල පහසුකම් සහිත ප්‍රදේශයක් ලෙස ද මෙම කලාපය හඳුනාගත හැකි ය.

- සංවර්ධනය වූ මාර්ග පද්ධති, අධිවේගී මාර්ග, ගුවන් පාලම්, දුම්රිය මාර්ග සහිත දියුණු ප්‍රවාහන ජාලය තෙත් කලාපීය භූ දර්ශනයෙහි ඉස්මතු වී පෙනේ.

- ශීඝ්‍රයෙන් වර්ධනය වන සැලසුම් සහගත නගර මෙන් ම නගර හා ග්‍රාමීය ප්‍රදේශ මිශ්‍ර වූ භූ දර්ශනයක් ද මෙහි දක්නට ලැබේ. මෙම නගරවල පවත්නා සේවාවන් ලබා ගැනීමට දෛනික ව පැමිණෙන අධික ජනතාව සහ රථවාහන සංඛ්‍යාව මගින් ද තෙත් කලාපීය භූ දර්ශනයේ සජීවී බව පිළිබිඹු කෙරේ.

ශ්‍රී ලංකාවේ පරිපාලන අගනුවර වූ ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ සහ වාණිජ නගරය වූ කොළඹ තෙත් කලාපයේ පිහිටා ඇත.

මැටි කැපීම සහ මැණික් ඉල්ලම් අසීමිත ලෙස හැරීම, අසීමිත ලෙස වැලි ඉවත් කිරීම, වන විනාශය, පරිසරයට හානිකර වූ සංවර්ධන කටයුතු යනාදිය නිසා හායනයට ලක් වූ ප්‍රදේශ පැවතීම ද විශේෂ ලක්ෂණයකි. මේ නිසා නායයෑම, භූගත ජල උල්පත් සිඳීයාම, ගොඩනැගිලි ගිලාබැසීම, මැසි මදුරුවන් බෝවීම වැනි ගැටලු මතු වී තිබේ.

## ක්‍රියාකාරකම්



01. ශ්‍රී ලංකාවේ ආකෘති සිතියමක් පිටපත් කර ගන්න.

    i. ගුරු උපදෙස් ලබාගනිමින් එහි තෙත් කලාපය වෙන් කොට අඳින්න.

    ii. සිතියම් පොතක් ආධාරයෙන් කොළඹ, ගම්පහ, කළුතර, ගාල්ල, මාතර, මහනුවර යන නගර ද කටුනායක, කොග්ගල, බියගම යන ආයෝජන ප්‍රවර්ධන කලාප ද එම සිතියමෙහි ලකුණු කර නම් කරන්න.

02. තෙත් කලාපීය භූ දර්ශනයේ දැකිය හැකි ලක්ෂණ හයක් ලියන්න.

03. තෙත් කලාපයේ සජීවී භූ දර්ශනයක් ඇති වීමට බලපා ඇති හේතු තුනක් ලියන්න.

04. තෙත් කලාපීය භූ දර්ශනය චිත්‍රයකින් හෝ පින්තූර මගින් දක්වන්න.

## යාපන අර්ධද්වීපය හා යාබද දූපත් ආශ්‍රිත භූ දර්ශනය

ශ්‍රී ලංකාවේ උතුරින් යාපන අර්ධද්වීපය හා ඒ ආශ්‍රිත ව ඩෙල්ෆ්ට්, කයිට්ස්, නාගදීපය වැනි දූපත් කිහිපයක් පිහිටා ඇත.

- තැනිතලා බිම්, කලපු, දූපත්, වැලිතලා, සාරවත් රතු පස, හුණුගල් පස, භූගත ජලය යනාදිය යාපන අර්ධද්වීපය හා යාබද ව පිහිටි දූපත් ආශ්‍රිත කලාපයේ භෞතික භූ දර්ශනයෙහි කැපී පෙනෙන ලක්ෂණ වේ.

- ප්‍රධාන වර්ෂා ක්‍රමවලින් මෙම කලාපයට වැසි නොලැබේ. එබැවින් අඩු වර්ෂාපතනය, අධික උෂ්ණත්වය, අධික වාෂ්පීකරණය වැනි සාධක මත ගොඩනැගුණු භෞතික පරිසරයක් මෙන් ම මානුෂ භූ දර්ශනයක් ද දක්නට ලැබේ.

- අතීතයේ සිට නිර්මාණය කරන ලද ආඬියා ළිං සහ වර්තමානයේ ජලය පොම්ප කිරීම මගින් සිදු කෙරෙන ඉතා දියුණු කෘෂි භූමි පරිභෝග රටාව මානුෂ භූ දර්ශනයේ ප්‍රධාන ලක්ෂණයකි. මෙම භූගත ජලය මත නඩත්තු කෙරෙන සශ්‍රීක ගොවි බිම්වල අර්තාපල්, මිරිස්, රතු ලූනු මෙන් ම බීට් වැනි එළවළු ද මිදි, අඹ, කෙසෙල් වැනි පලතුරු ද වගා කෙරේ.

- ප්‍රදේශයේ සම්පත් පරිහරණයට ගනිමින් කර ගෙන යනු ලබන වෙරළාශ්‍රිත ධීවර කර්මාන්තය, හස්ත කර්මාන්තය, ලුණු නිපදවීම යනාදිය මානුෂ භූ දර්ශනයෙහි කැපී පෙනේ.

- තල් ගස් බහුල වීමත්, ඒ ආශ්‍රිත නිෂ්පාදන දෛනික කටයුතු සඳහා යොදා ගැනීමත් මේ ප්‍රදේශයේ දැකිය හැකි ප්‍රධාන ලක්ෂණයකි. තල් කොළවලින් ආවරණය වූ වහල සහ වැට සහිත නිවාස, තල් ආශ්‍රිත ආහාර, තල් ආශ්‍රිත භාණ්ඩ මෙහි සුලබ ය.

- හින්දු ආගම පදනම් කොට ගෙන ගොඩනැගුණු මෙම සංස්කෘතියෙහි කෝවිල් (නල්ලූර්), ආගමික උත්සව, පෙරහැර වැනි අංග මෙන් ම බැතිමතුන් ද සුවිශේෂී වේ.

- එමෙන් ම දියනෑම, කිමිදීම සඳහා දූපත් ආශ්‍රිත මුහුදු තීරය, නැගෙනහිර වෙරළ තීරය, චුන්ඩිකුලම් කුරුලු අභයභූමිය, නාගදීපය වැනි ස්ථාන හේතුකොට ගෙන මෙම ප්‍රදේශය සංචාරකයින්ගේ ආකර්ෂණයට ලක් වූ සංචාරක කලාපයක් බවට ද පත් ව ඇත.




3.5 රූපය - ශ්‍රී ලංකාවේ යාපන අර්ධද්වීපය හා යාබද දූපත් ආශ්‍රිත භූ දර්ශනය

**දුෂ්කර භෞතික සාධක යටතේ වුව ද අප්‍රතිහත ධෛර්යයෙන් හා උත්සාහයෙන් ගොඩනගා ගත් සශ්‍රීක ආර්ථිකයක් ඇති සුවිශේෂ වූ සංස්කෘතික අනන්‍යතාවකින් යුත් භූ දර්ශනයකි.**



### ක්‍රියාකාරකම්

01. යාපන අර්ධද්වීපය හා යාබද දූපත් ආශ්‍රිත භෞතික හා මානුෂ භූ දර්ශනයෙහි කැපී පෙනෙන ලක්ෂණ වෙන් වෙන් ව ලියන්න.
02. මෙම භූ දර්ශනයේ දැකිය හැකි සංස්කෘතික සුවිශේෂත්වය පිළිබඳ අත් පත්‍රිකාවක් සකස් කරන්න.
03. ශ්‍රී ලංකා ආකෘති සිතියමක කයිට්ස්, ඩෙල්ෆ්ට්, නාගදීපය, නල්ලූර් කෝවිල, එලිෆන්ට්පාස් ලුණු ලේවාය ලකුණු කොට නම් කරන්න.
04. තල් ගස යාපන අර්ධද්වීපයේ ජනතාවට ප්‍රයෝජනවත් වන ආකාරය පැහැදිලි කරන්න.

## වෙරළ ආශ්‍රිත භූ දර්ශනය

ශ්‍රී ලංකාව වටා ඇති දූපත්, බොකු, කලපු, තුඩු, වගුරු වැනි භූ ලක්ෂණවලින් සමන්විත වෙරළ තීරය ඊට ම සුවිශේෂ වූ භූ දර්ශනයකින් ද යුක්ත වේ. වෙරළ ආශ්‍රිත ව ඇති කඩොලාන ශාක පද්ධති, කොරල්පර මෙන් ම දර්ශනීය වැලිතලාවන් මෙහි භෞතික භූ දර්ශනයේ මූලිකාංග වේ. මෙම භෞතික පරිසරය පදනම් කොට ගෙන ගොඩනැගුණු මානුෂ භූ දර්ශනයක් ද වෙරළ ආශ්‍රිත පරිසරයෙහි දක්නට ලැබේ.

- තංගල්ල, නිලාවෙලි, පාසිකුඩා, උණවටුන, ආරුගම්බේ වැනි දර්ශනීය වෙරළ තීර, හික්කඩුව ආශ්‍රිත අලංකාර කොරල්පර යනාදිය සංචාරකයින්ගේ ආකර්ෂණයට ලක් වී ඇත. මෙම ප්‍රදේශවල ඉදිකර ඇති හෝටල්, භෝජනාගාර, පුරාවිද්‍යාත්මක ස්ථාන, ප්‍රදීපාගාර, ආගමික සිද්ධස්ථාන, අභයභූමි, විනෝද නිකේතන, ජාතික වනෝද්‍යාන යනාදිය සංචාරකයන් නිරතුරු ව ගැවසීමට හේතු වී තිබේ.

- වෙරළ ආශ්‍රිත ව පිහිටි නොගැඹුරු මුහුදු හා කලපු, කඩොල් වගුරු හා ලවණ වගුරු ආශ්‍රිත ව කෙරෙන ධීවර කර්මාන්තය ද වෙරළ තීරය දිගේ ව්‍යාප්ත ව ඇති ධීවර ජනාවාස ද කලාපයට සුවිශේෂී ලක්ෂණ වේ.

- වෙරළ ආශ්‍රිත ව පිහිටි සම්පත් පදනම් කොට ගෙන බිහි වූ විවිධ කර්මාන්ත ද මානුෂ භූ දර්ශනයේ විශේෂ ලක්ෂණයකි. කොහු ආශ්‍රිත නිෂ්පාදන, කරවල වේලීම, හුණුගල් කර්මාන්තය යනාදිය නිදසුන් ලෙස දැක්විය හැකි ය.

- මෙම ප්‍රදේශවල සිදු වන හිරිගල් කැඩීම, වෙරළින් වැලි ඉවත් කිරීම යනාදී ඇතැම් මානුෂ ක්‍රියාකාරකම් නිසා වෙරළ භූ දර්ශනයට හානි සිදු වී ඇති අවස්ථා ද ඇත.




3.6 රූපය - ශ්‍රී ලංකාවේ වෙරළ ආශ්‍රිත භූ දර්ශනය

**ශ්‍රී ලංකාව වටා පිහිටි, විවිධ භෞතික ලක්ෂණවලින් සමන්විත, දෙස් විදෙස් සංචාරකයින් නිරතුරු ව ගැවසෙන දර්ශනීය භූ දර්ශනයක් සහිත කලාපයකි.**

## ක්‍රියාකාරකම්



01. ශ්‍රී ලංකාවේ වෙරළ ආශ්‍රිත භූ දර්ශනයෙහි සුවිශේෂී ලක්ෂණ නම් කරන්න.
02. ශ්‍රී ලංකාවේ සිතියමක බොකු, කලපු, තුඩු හා දූපත් දෙක බැගින් ද වෙරළ තීරයේ පිහිටි සංචාරක ආකර්ෂණ තුනක් ද ලකුණු කර නම් කරන්න.

ශ්‍රී ලංකාව කුඩා දිවයිනක් වුවද ඒ තුළ එකිනෙකට වෙනස් වන කැපී පෙනෙන භූ දර්ශනවලින් සමන්විත වන බව ඉහත විස්තරවලින් පැහැදිලි වේ. ශ්‍රී ලංකාවේ උතුරේ සිට දකුණට ගමන් කරන්නෙකුට මෙම භූ දර්ශන සියල්ල ම එක් දිනක දී වුව ද දැකගත හැකි ය.

## පැවරුම්



01. ශ්‍රී ලංකා සිතියමක ඔබ උගත් භූ දර්ශන කලාප පහ වෙන් කොට දක්වන්න.
02. එම කලාප පහට අයත් භූ දර්ශනවල සුවිශේෂී ලක්ෂණ ඇතුළත් පිටු පෙරළනයක් සකස් කරන්න.
03. ඔබ ජීවත්වන ප්‍රදේශයෙහි භූ දර්ශනය අධ්‍යයනය කොට එහි දක්නට ඇති භෞතික ලක්ෂණ හා මානුෂ ක්‍රියාකාරකම් විස්තර කරන්න.
04. "කඳුකරයේ අසිරිය" යන මැයෙන් සංචාරකයින්ට බෙදා දීම සඳහා නැරඹුම් ස්ථාන සහිත හැකුළුම්පතක් නිර්මාණය කරන්න.

| පාරිභාෂික වචන | | |
|---|---|---|
| භූ දර්ශනය | Landscape | நிலத்தோற்றம் |
| කඳුවැටි | Mountain ranges | மலைத்தொடர்கள் |
| දියඇලි | Waterfalls | நீர்வீழ்ச்சிகள் |
| සානු | Plateaus | மேட்டு நிலங்கள் |
| කපොලු | gaps | கணவாய்கள் |
| නටඹුන් | ruins | எச்சங்கள்/ சிதைவுகள் |

| වාරි ශිෂ්ටාචාරය | hydraulic civilization | நீர்வள நாகரிகம் |
|---|---|---|
| ශේෂ කඳු | residual hills | எச்சக் குன்றுகள் |
| ආරක්ෂක බලකොටුව | Fortress | பாதுகாப்பு அரண் |
| වනෝද්‍යාන | Park | வனப்பூங்கா |
| වෘක්ෂලතා වැස්ම | Vegetation cover | தாவரப் போர்வை |
| ජෛව විවිධත්වය | Bio diversity | உயிர் பல்லினத் தன்மை |
| පිටාර තැන්න | Flood plain | வெள்ளச் சமவெளி |
| කොරටු වගාව | Koratu cultivation | தோட்டச் செய்கை |
| භෞතික භූ දර්ශනය | Physical landscape | பௌதிக நிலத்தோற்றம் |
| මානුෂ භූ දර්ශනය | Human landscape | மானிட நிலத்தோற்றம் |
| කෘෂි භූමි පරිභෝග රටාව | Agricultural land use pattern | விவசாய நிலப்பயன்பாட்டுமுறை |
| වෙළෙඳ කලාප | Trade zone | வர்த்தக வலயம் |
| කාර්මික ජනපද | Industrial colony | கைத்தொழில் குடியேற்றங்கள் |
| සංක්‍රමණය | Migration | இடப்பெயர்வு |
| යටිතල පහසුකම් | Infrastructure facilities | உட்கட்டமைப்பு வசதிகள் |
| අධිවේගී මාර්ග | Express ways | அதிவேகப் பெருந்தெருக்கள் |
| ගුවන් පාලම් | Flyovers | மேம்பாலங்கள் |
| නායයෑම | Landslip/landslide | நிலச்சரிவுகள்/ நிலச் சறுக்கல் |
| තෙත් කලාපය | Wet zone | ஈர வலயம் |
| ආඩියා ළිං | Sweep well | ஆடியா கிணறு |
| වැලිතලා | Sands sheet | மணல் வெளிகள் |
| කොරල්පර | Coral reefs | முருகைக் கற்பாறைகள் |
| කලපු | Lagoons | கடனீரேரிகள் |
| කඩොලාන | Mangroves | கண்டல் தாவரங்கள் |
| ලවණ වගුරු | Saline marsh | உவர் சதுப்புக்கள் |

# 04 ස්වාභාවික උපද්‍රව සහ ආපදා

ස්වාභාවික උපද්‍රව හා ආපදා පිළිබඳවත් ශ්‍රී ලංකාවේ
ඇති වන ස්වාභාවික ආපදා පිළිබඳවත් අධ්‍යයනය කිරීම
මෙම පරිච්ඡේදයේ අරමුණ වේ.





වර්තමානයේ ලෝකයේ ස්වාභාවික ව ඇති වන විවිධ ආපදා පිළිබඳ ව නිරන්තරයෙන් අසන්නට ලැබේ. මෙබඳු ආපදා නිසා මිනිස් ජීවිත, දේපළ, පොදු පහසුකම් සහ ස්වාභාවික පරිසරයට එල්ල වන තර්ජන බොහෝ ය.



4.1 රූපය - ආපදා අවස්ථා කිහිපයක්

ස්වාභාවික ව හෝ මානුෂ ක්‍රියාකාරකම් හේතුවෙන් ප්‍රජාවට හෝ දේපළවලට හානි සිදු විය හැකි ස්වාභාවික සංසිද්ධි, උපද්‍රව ලෙස හැඳින්වේ. උපද්‍රව නිරන්තරයෙන් සිදු වෙමින් පවතින ක්‍රියාවලියකි. මෙවැනි සිදුවීම්, ප්‍රජාවට හෝ දේපළවලට විනාශකාරී ලෙස බලපාන්නේ නම් එය ආපදාවක් බවට පත් වේ.


4.2 රූපය - උපද්‍රවය


4.3 රූපය - ආපදාව

නායයෑම, කඳුකර ප්‍රදේශවල පවතින උපද්‍රවයකි. එහෙත් එය ආපදාවක් බවට පත්වන්නේ මිනිසාට හා දේපළවලට සිදු වන බලපෑම් අනුව ය. මිනිසුන් නොමැති දූපතක සිදු විය හැකි නායයෑමක් මගින් මිනිසුන්ට හා දේපළවලට හානි නොවන බැවින් එය ස්වාභාවික ව සිදු වන උපද්‍රවයක් පමණි. එසේ වුව ද මිනිසුන් අධික ජනාකීර්ණ ප්‍රදේශයක සිදු වුවහොත් එය ආපදාවක් බවට පත් වේ.

## ක්‍රියාකාරකම්



01. ඔබ අසා ඇති ස්වාභාවික උපද්‍රව පහක් නම් කරන්න.
02. ස්වාභාවික ආපදාවකින් සිදු විය හැකි හානි පහක් සඳහන් කරන්න.
03. ස්වාභාවික ආපදා පිළිබඳ පින්තූර ගොනුවක් සකස් කරන්න.

## ශ්‍රී ලංකාවේ ඇති වන ස්වාභාවික ආපදා

ස්වාභාවික ආපදාව, කෙටි කාලීන ව ඇති විය හැකි විනාශකාරී බලවේගයකි. ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන බොහොමයක් උපද්‍රව, වර්තමානයේ දී අහිතකර මිනිස් ක්‍රියාකාරකම් නිසා ආපදා බවට පත් වීම වැඩි වෙමින් පවතී. එලෙස ආපදා බවට පත් ව ඇති උපද්‍රව ලෙස නියඟ, ගංවතුර, නායයෑම්, සුළි සුළං, අකුණු සැර, සුනාමි, භූමිකම්පා යනාදිය දැක්විය හැකි ය.

### නියඟය

**යම් ප්‍රදේශයකට නිශ්චිත කාලවකවානුවක් තුළ ලැබිය යුතු සාමාන්‍ය වර්ෂාපතනය නොලැබී යාම නිසා පරිසරයේ ඇති වන වියළි ස්වභාවය නියඟය ලෙස හැඳින්වේ.**

නියඟ, ඕනෑ ම ප්‍රදේශයක ඕනෑ ම කාලයක පවත්නා උපද්‍රවයකි. අනෙක් ස්වාභාවික උපද්‍රව තරම් නියඟය කෙරෙහි දක්වන අවධානය අඩු ය. එසේ වන්නේ නියඟය අපට නොදැනෙන අයුරින් ආරම්භ වී ක්‍රමයෙන් වර්ධනය වී

මුළු මහත් ජන සමාජයට ම අර්බුදකාරී තත්ත්වයක් ඇති කිරීමට සමත් නිහඬ ව්‍යසනයක් (ආපදාවක්) වන බැවිනි. ශ්‍රී ලංකාවේ නියඟ බලපාන දිස්ත්‍රික්ක කිහිපයක් 4.1 සිතියමෙහි දක්වා ඇත.

**නියඟ ඇති වීමට බලපාන හේතු :**

- දීර්ඝ කාලයක් තිස්සේ වර්ෂාපතනය අඩු වීම
- වනාන්තර ගිනි තැබීම
- වියළි සුළං ප්‍රවාහ
- ගෝලීය උණුසුම වැඩි වීම
- ශාක ආවරණය ඉවත් වීම




4.1 සිතියම - ශ්‍රී ලංකාවේ නියඟ බලපාන දිස්ත්‍රික්ක කිහිපයක්

## නියඟයෙන් ඇති වන හානි

නියඟයේ අහිතකර බලපෑම් අංශ දෙකක් යටතේ සාකච්ඡා කළ හැකි ය. මිනිසාට ඇති වන බලපෑම් හා පරිසරයට ඇති වන බලපෑම් වශයෙනි.

## මිනිසාට ඇති වන බලපෑම්



- ජලය හිඟ වීම
- කෘෂි අස්වනු විනාශ වීම
- ආහාර හිඟය
- වසංගත රෝග පැතිරීම
- සතුන්ට හානි සිදු වීම

### පරිසරයට ඇති වන බලපෑම්



- පරිසර උෂ්ණත්වය ඉහළ යාම
- භූගත ජල මට්ටම පහළ බැසීම
- ළැව්ගිනි ඇති වීම
- වනාන්තර විනාශ වීම
- ජෛව සම්පත් විනාශ වීම
- පස නිසරු වීම
- පාරිසරික සුන්දරත්වයට හානි පැමිණීම

## ක්‍රියාකාරකම්



01. ශ්‍රී ලංකාවේ නියඟ ඇති වන ප්‍රදේශ ශ්‍රී ලංකා ආකෘති සිතියමක ලකුණු කර සේයා කරන්න.
02. නියං උපද්‍රවය ඇති වීමට බලපාන හේතු දෙකක් ලියන්න.
03. නියං ආපදාව මානුෂ ක්‍රියාකාරකම් සඳහා බලපාන ආකාරය පිළිබඳ ව කරුණු තුනක් ඉදිරිපත් කරන්න.
04. නියඟය ඇති අවස්ථාවක දී පරිසරයේ සිදු වන වෙනස්වීම් නිරීක්ෂණය කර හෝ තොරතුරු සොයා වාර්තාවක් සකස් කරන්න.

### ගංවතුර

ඇළදොළ, ගංගා, ජලාශ ආදියට කෙටි කාලීන ව අධික ජලස්කන්ධයක් එකතු වූ විට එය උතුරා පිටාර ගැලීම සිදු වේ. වර්තමානයේ ගංගා, ඇළදොළ නොමැති නාගරික ප්‍රදේශවල පවා සුළු වර්ෂාවක දී වුව ද වැසි ජලය පිටාර ගැලීම සුලබ ව දක්නට ලැබෙන ලක්ෂණයකි. ශ්‍රී ලංකාවේ ගංවතුර ආපදාවට ලක්වන දිස්ත්‍රික්ක කිහිපයක් 4.2 සිතියමෙහි දැක්වේ. එසේ වුව ද වර්ෂාපතන තීව්‍රතාව වැඩි වීමෙන් ශ්‍රී ලංකාවේ සෑම දිස්ත්‍රික්කයක ම ගංවතුර ආපදාව ඇති විය හැකි ය.




4.2 සිතියම - ශ්‍රී ලංකාවේ ගංවතුර ආපදාවට ලක්වන දිස්ත්‍රික්ක කිහිපයක්

## ගංවතුර ඇති වීමට බලපාන හේතු

- නොකඩවා ඇද හැලෙන අධික වර්ෂාව
- කඳු ප්‍රදේශවල වනාන්තර එළි කිරීම
- පහත් බිම් ගොඩ කිරීම
- ගංගා නිම්නවල වැලි ගොඩ දැමීම




4.4 රූපය - ගංවතුරින් සිදු වන හානි

## ක්‍රියාකාරකම්



01. i. ශ්‍රී ලංකාවේ ගංවතුර ආපදාව ඇති වන ගංගාධාර පහක් ශ්‍රී ලංකා ආකෘති සිතියමක ලකුණු කර නම් කරන්න.
    ii. ගංවතුර ආපදාවට ලක්වන දිස්ත්‍රික්ක පහක් එම සිතියමෙහි සේයා කර දක්වන්න.
02. ගංවතුර ආපදා බහුල ව ම ඇති වන්නේ කුමන දේශගුණික කලාපයේ ද?
03. ගංවතුර ආපදාව ඇති විය හැකි වියළි කලාපීය දිස්ත්‍රික්ක මොනවා ද?
04. ගංවතුර අවස්ථාවක් චිත්‍රයට නගන්න.

## නායයෑම්

> "උස්බිම් ප්‍රදේශයක පවතින ගල්, බොරළු, පස් කුට්ටිවලින් සමන්විත පොළොවේ විශාල කොටසක් බෑවුම දිගේ පහළට රූටා යාම නායයෑමක් ලෙස හැඳින්විය හැකි ය".

නායයෑම වර්තමානයේ ශ්‍රී ලංකාවේ බහුල ව සිදු වන ආපදාවකි. මෙය ස්වාභාවික ව සිදු වන ක්‍රියාවලියක් වුව ද මේ සඳහා ප්‍රධාන වශයෙන් මානුෂ ක්‍රියාකාරකම් බලපා තිබේ. නායයෑමට බලපාන හේතු කොටස් දෙකකට බෙදිය හැකි ය.

| ස්වාභාවික හේතු | මානුෂ ක්‍රියාකාරකම් |
| --- | --- |
| නොකඩවා පවතින වර්ෂාව | කඳු ප්‍රදේශවල කැළෑ ගිනි තැබීම |
| භූමිය අධික බෑවුම් සහිත වීම | නිසි සැලසුමකින් තොර ව කඳුකර ප්‍රදේශවල ඉඩම් පරිහරණය කිරීම |
| දිරාපත් වූ පාෂාණ ස්තර තිබීම | ඉදිකිරීම්වල දී ප්‍රමාණවත් ලෙස ගවේෂණ සිදු නොකිරීම |
| භූමිකම්පා ඇති වීම | ස්වාභාවික ජල මාර්ග අවහිර කිරීම |
| | උස් බිම්වල ජලය රඳවා තැබීම |

ශ්‍රී ලංකාවේ වැඩි වශයෙන් නායයෑම්වලට ලක්වන දිස්ත්‍රික්ක කිහිපයක් 4.3 සිතියමෙහි දැක්වේ.




4.3 සිතියම - ශ්‍රී ලංකාවේ නායයෑම්වලට ලක්වන දිස්ත්‍රික්ක කිහිපයක්

### නායයෑම්වලින් සිදු වන හානි

- ජීවිත හා දේපළ විනාශ වීම
- වගා බිම් විනාශ වීම
- පරිසරය විනාශ වීම
- ජලාශ ගොඩ වීම හා ඇළ මාර්ග අවහිර වීම
- යටිතල පහසුකම් විනාශ වීම
- සාමාන්‍ය ජන ජීවිතය අඩාළ වීම

## ක්‍රියාකාරකම්



01. නායයෑම යනු කුමක්දැයි කෙටියෙන් හඳුන්වන්න.
02. නායයෑම් බහුල ව සිදු වන දිස්ත්‍රික්ක පහක් ශ්‍රී ලංකා සිතියමක ලකුණු කොට සේයා කරන්න.
03. පහත සඳහන් කරුණු අතරින් නායයෑම්වලට බලපාන හේතු තෝරා ලියන්න.

    සුළං හැමීම, අධික වර්ෂාව, අධික උෂ්ණත්වය, පහත් බිම් ගොඩ කිරීම, අධික බෑවුම් සහිත වීම, කඳු ප්‍රදේශවල වගා කිරීම, භූමිය සමතලා වීම, උස් බිම්වල ජලය රඳවා තැබීම, ගංගා මුවදොර අවහිර කිරීම, භූමිකම්පා ඇති වීම.
04. නායයෑමක දී සිදු විය හැකි විපත් ඇතුළත් කරමින් පෝස්ටරයක් නිර්මාණය කරන්න.
05. නායයෑම් වළක්වා ගැනීම සඳහා ගත හැකි ක්‍රියාමාර්ග තුනක් යෝජනා කරන්න.

## සුළි සුළං (සුළි කුණාටු)




4.4 සිතියම - ශ්‍රී ලංකාවේ සුළි සුළං බලපෑමට ලක්වන දිස්ත්‍රික්ක කිහිපයක්

**සුළියක් ලෙස ඉතා වේගයෙන් කරකැවෙමින් හමා යන වේගවත් සුළඟ, සුළි සුළං නොහොත් සුළි කුණාටු ලෙස හැඳින්වේ.**

නිවර්තන කලාපයේ පවතින අධික උෂ්ණත්වය සහ ඒ හේතුකොට ගෙන වර්ධනය වන අඩු පීඩන කේන්ද්‍ර, සුළි කුණාටු නිර්මාණය වීම කෙරෙහි බලපා ඇත.

ශ්‍රී ලංකාව, නිවර්තන කලාපයේ පිහිටා ඇති රටකි. බෙංගාල බොක්ක ප්‍රදේශයෙහි නිරන්තරයෙන් හටගන්නා අඩු පීඩන කේන්ද්‍රවල බලපෑම නිසා ද්වීපයක් ලෙස පිහිටි ශ්‍රී ලංකාව ද නිතර සුළි කුණාටුවල බලපෑමට හසු වේ.

නැගෙනහිර වෙරළින් ශ්‍රී ලංකාවට ඇතුළු වන මෙම සුළං විශාල ප්‍රදේශයක ව්‍යාප්ත වී වයඹ දිග වෙරළින් පිටවී යයි. එමගින් දිවයිනේ උතුරු නැගෙනහිර ප්‍රදේශවලට වැඩි බලපෑමක් ඇති කෙරේ. 4.4 සිතියම නිරීක්ෂණය කොට සුළි සුළංවල බලපෑමට ලක් වන ප්‍රදේශ හඳුනා ගන්න.

## සුළි සුළංවලින් සිදු වන හානි

- අධික වර්ෂාව සහ වේගවත් සුළං නිසා විශාල ලෙස ජීවිත හා දේපළ හානි සිදු වීම.
- වගාවන් විනාශ වීම
- විදුලිය, ප්‍රවාහනය ආදී යටිතල පහසුකම් බිඳ වැටීම.
- වෙරළ ආශ්‍රිත ප්‍රදේශවල මුහුද ගොඩ ගැලීම.

### ක්‍රියාකාරකම්



01. සුළි සුළඟක් යනු කුමක් ද?
02. සුළි සුළං බලපැවැත්වෙන දිස්ත්‍රික්ක ශ්‍රී ලංකා සිතියමක ලකුණු කර එම ප්‍රදේශ සේයා කරන්න.
03. සුළි සුළඟකින් සිදු විය හැකි අනතුරු ඇතුළත් කොට ලේඛනයක් සකස් කරන්න.
04. එම අනතුරු අවම කර ගැනීම සඳහා යෝජනා ඉදිරිපත් කරන්න.

## අකුණු සැර

වලාකුළක් තුළ ඇති විය හැකි විද්‍යුත් ක්‍රියාකාරිත්වය මත ප්‍රතිවිරුද්ධ ආරෝපණ දෙකක් අතර සිදු වන විදුලිය මුදාහැරීම අකුණු ලෙස හැඳින්වේ.

මෙසේ විදුලිය මුදාහැරීම එක ම වලාකුළක් තුළ හෝ වලාකුළු දෙකක් අතර හෝ වලාකුළක සිට පොළොවට හෝ සිදු විය හැකි ය. එමගින් භූ තලයට විශාල හානියක් සිදු වේ. ශ්‍රී ලංකාවේ බොහෝ දුරට අකුණු ඇති වන්නේ සංවහන ක්‍රියාවලිය සිදු වන මාර්තු, අප්‍රේල් හා ඔක්තෝම්බර්, නොවැම්බර් යන මාසවල දී ය. එසේ වුව ද වසරේ ඕනෑ ම කාලයක අකුණු ඇති විය හැකි ය.

## අකුණු සැර වැදිය හැකි අවස්ථා කිහිපයක්

ගසක් යට සිටි පස් දෙනෙක් අකුණු සැර වැදී මිය යති

දිය නාමින් සිටි සිසුවියක් අකුණු සැර වැදී මරුට

ස්විච්චියක් දිගේ අකුණු සැර

දුරකථන ඇමතුමක් ලබා ගනිමින් සිටි පුද්ගලයෙකු අකුණු සැර වැදී මිය යයි

### අකුණු සැරවලින් සිදු වන හානි

- මිනිස් ජීවිත හා දේපළ විනාශ වීම.
- විදුලි රැහැන් පද්ධති බිඳ වැටීම.
- නිවාස විනාශ වීම.
- සන්නිවේදන ජාල අක්‍රීය වීම හා විනාශ වීම.

### අකුණු අනතුරු වළක්වා ගැනීම

- ගිගුරුම් සහිත වර්ෂා අවස්ථාවල එළිමහන් ස්ථානවල රැඳී නොසිටීම.
- උසින් වැඩි ගස් යට නොසිටීම.
- එවැනි අවස්ථාවල ගමන් බිමන්වලින් වැළකී සිටීම.
- නිවස තුළ විදුලි රැහැන් පද්ධති ක්‍රියාවිරහිත කිරීම.
- දුරකථන භාවිත නොකිරීම.
- අධිබල විදුලි රැහැන් යට ගොඩනැගිලි ඉදිනොකිරීම.
- නිවාස ඉදිකිරීමේ දී ආරක්ෂාකාරී ලෙස විදුලි පරිපථ සවි කර ගැනීම සඳහා පුහුණු කාර්මිකයකු යොදවා ගැනීම.

## ක්‍රියාකාරකම



අකුණුවලින් සිදු වන අනතුරු වළක්වා ගැනීම හෝ අවම කර ගැනීමට ගත හැකි ක්‍රියාමාර්ග ඇතුළත් කොට මහජනතාව දැනුවත් කිරීම සඳහා උපදෙස් පත්‍රිකාවක් සකස් කරන්න.

## සුනාමි

**මුහුදු පත්ලේ සිදු වන භූමිකම්පාවක්, නායයෑමක් හෝ ගිනිකඳු පිපිරීමක් හේතුකොට ගෙන වෙරළ කරා එන වේගවත් රළ "සුනාමි" ලෙස හැඳින්වේ.**

"සුනාමි" යනු ජපන් භාෂාවෙන් බිඳී ආ වචනයකි. 'Tsu' (සු) යන්නෙන් "වරාය" යන්න ද, 'nami' (නාමි) යනු "රළ" යන්න ද අදහස් වේ. සුනාමි යනු වෙරළ කරා එන ඉතා උස් වූ මුහුදු රළ ලෙස ද හඳුන්වනු ලැබේ.

ශ්‍රී ලංකාව දූපතක් වන බැවින් දිවයින වටා ඇති වෙරළ ආශ්‍රිත සියලු ම ප්‍රදේශවලට සුනාමි උපද්‍රවය පවතී. මෙය අනෙකුත් ආපදා මෙන් සුලභ නොවූව ද ඉන් ඇති වන බලපෑම අතිවිශාල වේ. 2004 දෙසැම්බර් 26 දින ශ්‍රී ලංකාවට බලපෑ ඉතා බිහිසුණු සුනාමි ආපදාව නිසා ජීවිත හා දේපළවලට විශාල හානියක් සිදු විය.

### සුනාමි ඇති වීමට බලපාන හේතු

- මුහුදේ සිදු වන, භූමිකම්පා
- නායයෑම්
- ගිනිකඳු පිපිරීම් සහ සාගරයට උල්කාපාත වැටීම




**සුනාමියකින් වැළකීම සඳහා,**

- සුනාමි අනතුරු ඇඟවීම් පිළිබඳ ව විමසිල්ලෙන් සිටීම.
- සුනාමි අවස්ථාවක දී වෙරළ ආසන්නයෙහි රැඳී නොසිටීම.
- හැකි ඉක්මණින් උසින් වැඩි ආරක්ෂිත ස්ථාන කරා යෑම.

## ක්‍රියාකාරකම්



01. "සුනාමි" යන්න කෙටියෙන් හඳුන්වන්න.
02. සුනාමි ඇති වීම කෙරෙහි බලපානු ලබන හේතු තුනක් ලියන්න.
03. ශ්‍රී ලංකාවට සුනාමි ආපදාවක් ඇති වූයේ කවර දිනයක දී ද?
04. ශ්‍රී ලංකාවේ සුනාමි ආපදාවට ලක් වූ ප්‍රදේශ, ශ්‍රී ලංකා ආකෘති සිතියමක ලකුණු කර නම් කරන්න.

## භූමිකම්පා

**පෘථිවි අභ්‍යන්තරයේ ඇති අධික උෂ්ණත්වය හා පීඩන වෙනස්කම් හේතු කොට ගෙන ක්ෂණික ව සිදු වන භූමියේ සෙලවීම භූමිකම්පා ලෙස හැඳින්වේ.**

ශ්‍රී ලංකාවේ සෑම ප්‍රදේශයක ම භූමිකම්පා උපද්‍රව තත්ත්වයක් පැවතුණ ද මෙතෙක් එය ආපදා තත්ත්වයක් බවට පත්වී නොමැත. එසේ වුව ද ආසන්න ප්‍රදේශවල සිදු වන භූමිකම්පා මගින් ශ්‍රී ලංකාවට ද ආපදා ඇති විය හැකි ය.

### භූමිකම්පා ඇති වීමට බලපාන හේතු

- පෘථිවි අභ්‍යන්තරයේ ඇති අධික උෂ්ණත්වය හා පීඩන වෙනස්කම්
- විශාල ජලාශ සහ වෙනත් මහා පරිමාණ ඉදිකිරීම් නිසා පෘථිවි සමතුලිතතාව බිඳ වැටීම
- න්‍යෂ්ටික පිපිරවීම්
- ගිනිකඳු පිපිරීම්

### භූමිකම්පා මගින් ඇති වන හානි

- ජීවිත, දේපළ විනාශ වීම
- මිනිසුන් අවතැන් වීම
- එදිනෙදා කටයුතු අඩාල වීම
- වගා බිම් විනාශ වීම
- ශාක හා සතුන් විනාශයට පත් වීම

## ක්‍රියාකාරකම



භූමිකම්පා මගින් ඇති විය හැකි හානි ඇතුළත් කර පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| මිනිසුන්ට වන හානි | පරිසරයට වන හානි |
|---|---|
| | |

## ආපදා අවස්ථාවකට මුහුණ දීම

ස්වාභාවික ආපදා මුළුමනින් ම වළක්වාලීමට මිනිසාට හැකියාවක් නොමැත. එහෙත් එමගින් ඇති වන හානිය අවම කර ගත හැකි ය. ඒ සඳහා ආපදා කළමනාකරණය වැදගත් වේ. පෙර සූදානම, ආපදා අවස්ථාවේ දී ක්‍රියාත්මක වීම සහ ආපදාවෙන් පසු ක්‍රියාත්මක වන ආකාරය ආපදා කළමනාකරණයෙහි මූලිකාංග වේ.

ආපදා කළමනාකරණ චක්‍රය අනුව ආපදා අවස්ථාවල දී කටයුතු කළ යුතු ආකාරය පිළිබඳ නිදසුන් කිහිපයක් පහත දැක්වේ.




### පෙර සූදානම

- අවදානම් කලාප හඳුනා ගැනීම හා එම ස්ථානවලින් ජනතාව ඉවත් කිරීම
- ආපදා, ආපදා සිදු වන ස්ථාන හා සිදු විය හැකි කාල සීමාවන් පිළිබඳ ව ජනතාව දැනුවත් කිරීම
- වන වැස්ම ආරක්ෂා කිරීම
- ජල පෝෂක ප්‍රදේශ ආරක්ෂා කිරීම
- ගොඩනැගිලිවල අකුණු සන්නායක සවි කිරීම
- අධිබලැති විදුලි රැහැන් යට ගොඩනැගිලි ඉදිනොකිරීම
- ආපදාවලට ඔරොත්තු දෙන ලෙස නිවාස ඉදිකිරීම
- ආසන්න කලාපවල භූමිකම්පාවක් සිදු වී තිබේ නම් සුනාමි ආපදා පිළිබඳ විමසිලිමත් ව සිටීම

### ආපදා අවස්ථාව

- අනතුරට ලක්වූවන් ආරක්ෂිත ස්ථාන වලට ගෙන යාම
- දේපළ නොව ජීවිත රැක ගැනීමට උත්සාහ දැරීම
- ආපදාවට ශක්තිමත් ලෙස මුහුණ දීම
- අනතුරට ලක්වූවන් සඳහා වෛද්‍ය ආධාර හා ප්‍රතිකාර ලබා දීම
- අනාථ වූවන් සඳහා ආහාරපාන ලබා දීම
- අනතුරු සිදු විය හැකි ගොඩනැගිලිවලින් ඉවත් කිරීම
- අපිරිසිදු ආහාර ගැනීමෙන් වැළකීම

### ආපදාවෙන් පසු

- ගැටලු හඳුනා ගැනීම
- හදිසි ආපදා මධ්‍යස්ථාන පිහිටුවීම
- ආපදා කට්ටල හඳුන්වා දීම
- ආපදාවට පත්වූවන්ට සහන සැලසීම
- සෞඛ්‍ය වැඩසටහන් ක්‍රියාත්මක කිරීම
- ආපදාවට ගොදුරු වූවන්ගේ මානසික සෞඛ්‍ය ගොඩනැංවීම සඳහා අදාළ කටයුතු සැලසුම් කිරීම

## ක්‍රියාකාරකම්



01. ස්වාභාවික උපද්‍රව පහක් නම් කරන්න.
02. ස්වාභාවික උපද්‍රව හා ආපදා අතර ඇති වෙනස පැහැදිලි කරන්න.
03. ස්වාභාවික ආපදා ඇති වීම කෙරෙහි බලපාන මානුෂ ක්‍රියාකාරකම් මොනවා ද?
04. පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| ස්වාභාවික ආපදාව | ඇති වීමට හේතු | ආපදා අවම කර ගැනීමේ ක්‍රම |
|---|---|---|
| ගංවතුර | 01.<br>02. | |
| නියඟ | 01.<br>02. | |
| සුළි සුළං | 01.<br>02. | |
| නායයෑම් | 01.<br>02. | |

## පැවරුම්



01. ශ්‍රී ලංකාවේ නිරන්තරයෙන් සිදු වන ස්වාභාවික ආපදා දෙකක් නම් කරන්න.
02. පුවත්පත්, සඟරා යනාදිය ආධාර කර ගනිමින් ශ්‍රී ලංකාවේ ස්වාභාවික ආපදාවලට ලක් වූ ප්‍රදේශවල පින්තූර ඇතුළත් තොරතුරු ගොණුවක් සකස් කරන්න.
03. එම ප්‍රදේශවල ආපදා ඇති වීමට බලපා ඇති හේතු සොයා ඉදිරිපත් කරන්න.
04. සිසුන් කණ්ඩායම් වශයෙන් සංවිධානය වී ආපදා අවස්ථාවකට ගොදුරු වී ඇති ජනතාවට සහාය වීම සඳහා ගත යුතු පියවර ඇතුළත් කරමින් පත්‍රිකාවක් සකස් කරන්න.

# ගෝලීය දේශගුණික වෙනස්වීම්

සාමාන්‍ය දේශගුණික රටාවේ දිගු කාලීන හා කෙටි කාලීන ව ඇති වන වෙනස්වීම් දේශගුණික වෙනස්වීම් ලෙස හැඳින්විය හැකි ය.

අතීතයේ දේශගුණික වෙනස්වීම් සිදු වීමට දිගු කාලයක් ගත වුව ද වර්තමානයේ මෙම සිදුවීම් කෙටි කාලයක් තුළ දී සිදු වන බව පෙනේ. මෑත කාලයේ දී නිරතුරු ව ම ඇති වන නියං තත්ත්වයන්, කටුක ශීත ඍතු, ජලගැලීම්, සුළි කුණාටු යනාදිය මෙම දේශගුණික වෙනස්වීම්වල ප්‍රතිඵල ලෙස හඳුනා ගත හැකි ය. ගෝලීය වශයෙන් ඇති වන මෙවැනි දේශගුණික වෙනස්වීම් ශ්‍රී ලංකාවට ද බලපා ඇත.

### දේශගුණික වෙනස්වීම් ඇති වීමට හේතු

- අධික ඉන්ධන දහනය
- වනාන්තර විනාශ කිරීම
- වායුගෝලය උණුසුම් වීම
- කෘෂි හා කාර්මික අපද්‍රව්‍ය ගිනි තැබීම
- ගිනිකඳු පිපිරීම

### දේශගුණික වෙනස්වීම් ශ්‍රී ලංකාවට බලපාන ආකාරය

**1. මුහුදු ජල මට්ටම ඉහළ යාම නිසා වෙරළබඩ පරිසර පද්ධති විනාශ වීම**

- වෙරළබඩ බිම් ජලයෙන් යට වීම
- පානීය ජලය දූෂණය වීම
- වෙරළ ඛාදනය වැඩි වීම
- ධීවර කර්මාන්තය අඩාල වීම හා වෙරළබඩ කර්මාන්ත විනාශ වීම

**2. අධික වැසි මගින් ඇති වන ආපදා**

- ජලගැලීම් හා නායයෑම් වැනි තත්ත්වයන් ඇති වීම
- ජීවිත හා දේපළ හානි සිදු වීම
- යටිතල පහසුකම් විනාශ වීම
- කෘෂි ඵලදාව අඩු වීම

3. වායුගෝලීය උෂ්ණත්වය ඉහළ යාම නිසා ඇති වන ආපදා

- නියං තත්ත්වයක් ඇති වීම
- ජල හිඟය
- අස්වැන්න අඩු වීම
- කෘෂිකාර්මික රටාව හා භෝග වර්ග වෙනස් වීම
- බෝවන රෝග වැඩි වීම, හඳුනා ගත නොහැකි රෝග තත්ත්වයන් ඇති වීම
- සමේ රෝග, ශ්වසන රෝග සහ අක්ෂි රෝග බහුල වීම
- මානසික ආතතිය ඇති වීම

4. බලශක්ති සම්පත් නිෂ්පාදනය හා භාවිතය සම්බන්ධ ගැටලු මතු වීම

- උෂ්ණත්වය වැඩි වීම නිසා වායු සමීකරණ, විදුලිපංකා වැඩියෙන් භාවිත කිරීමට සිදු වීම
- ජලවිදුලිබල උත්පාදනය අඩාල වීම
- විදුලිබලය හා තාප බලශක්තිය සඳහා ඉල්ලුම වැඩි වීම

## දේශගුණික වෙනස්වීම් අවම කිරීමට ගෙන ඇති ක්‍රියාමාර්ග

- කාර්මික, කෘෂිකාර්මික, ප්‍රවාහනය වැනි ක්ෂේත්‍රවලින් වායුගෝලයට මුදාහරිනු ලබන කාබන්ඩයොක්සයිඩ් වැනි අහිතකර වායු ප්‍රමාණය අවම කිරීම.
- වනහරණය අවම කිරීම හා වනාවරණය වැඩි කිරීම
- රක්ෂිත වනාන්තර කලාප ඇති කිරීම
- පරිසරයට බලපෑම් අඩු ජීව වායු භාවිතය ප්‍රබල කිරීම
- ගෝලීය උණුසුම වැඩි කරන වායු (හරිතාගාර වායු) මුදාහැරීම පිළිබඳ සීමා පැනවීම
- ඝන අපද්‍රව්‍ය කළමනාකරණය
- අනවසර ඉදිකිරීම් තහනම් කිරීම
- ජනතාව දැනුවත් කිරීම
- ලෝකයේ අනෙකුත් රටවල් සමග සාමූහික ව කටයුතු කිරීම

## ක්‍රියාකාරකම්



01. ගෝලීය දේශගුණය වෙනස් වීමට බලපාන හේතු මොනවා ද?
02. ගෝලීය උෂ්ණත්වය ඉහළ යාම නිසා ඇති වන පාරිසරික හානි තුනක් සඳහන් කරන්න.

## පැවරුම්



01. දේශගුණික වෙනස්වීම් අවම කිරීමට ඔබට දායක විය හැකි ආකාරය කෙටියෙන් විස්තර කරන්න.
02. ආපදාවකට ලක් වී සිටින ජනතාවගේ දැනුවත් වීම සඳහා ආරක්ෂාකාරී පියවර ඇතුළත් කරමින් පෝස්ටරයක් නිර්මාණය කරන්න.
03. ජනමාධ්‍ය ප්‍රවෘත්ති ආධාරයෙන් ශ්‍රී ලංකාවේ අකුණු මගින් සිදු වන අනතුරු වැඩි වීමට හේතු සොයා බලා වාර්තාවක් ඉදිරිපත් කරන්න.
04. මෙවැනි ආපදා අවස්ථාවකට ඔබට මුහුණ දීමට සිදු වුවහොත් ඉන් මිදීමට ඔබ ගන්නා පියවර තුනක් යෝජනා කරන්න.
05. i. ඔබ ජීවත් වන හෝ ඔබගේ පාසල අවට ප්‍රදේශයේ හෝ ස්වාභාවික ආපදාවක් සිදු වී තිබේ නම් වැඩිහිටියකු සමග එම ප්‍රදේශයට ගොස් ඒ පිළිබඳ ව නිරීක්ෂණය කරන්න.
    ii. එම ආපදාව නිසා සිදු වී ඇති හානි වාර්තා කර ගන්න.
    iii. එම ආපදාව සිදු වීමට බලපා ඇති හේතු විමසා දැනගන්න.
    iv. සියලු තොරතුරු ඇතුළත් වාර්තාවක් පන්තියට ඉදිරිපත් කරන්න.
    v. එම හානි වළක්වා ගැනීමට හා අවම කිරීමට ගත හැකි පියවර සාකච්ඡා කර ඉදිරිපත් කරන්න.

| පාරිභාෂික වචන | | |
|---|---|---|
| ස්වාභාවික උපද්‍රව | Natural Hazards | இயற்கை அனர்த்தங்கள் |
| ආපදා | Disasters | பேரனர்த்தங்கள் |
| නියඟය | Drought | வரட்சி |
| සුළං | Wind | காற்று |
| ගෝලීය උණුසුම් වීම | Global Warming | பூகோளம் வெப்பமடைதல் |
| ළැව්ගිනි | Bush Fires | காட்டுத் தீ |
| ගංවතුර | Flood | வெள்ளப்பெருக்கு |
| නායයෑම් | Earth Slip/Land Slides | நிலச்சரிவுகள் |
| පාෂාණ | Rocks | பாறைகள் |
| සුළි සුළං | Cyclones | சூறாவளிகள் |
| අකුණු සැර | Thunderbolt/Lightening | மின்னல் தாக்கம் |
| විද්‍යුත් ක්‍රියාකාරිත්වය | Electric phenomenon | இலத்திரனியல் தோற்றப்பாடு |
| සංවහන ක්‍රියාවලිය | Convectional Process | மேற்காவுகைச் செயன்முறை |
| භූමිකම්පාව | Earth Quake | புவி நடுக்கம் |
| ගිනිකඳු පිපිරීම | Volcanic Eruption | எரிமலை வெடிப்பு |
| පෘථිවි සමතුලිතතාව | Equilibrium of the earth | புவியின் சமநிலை |
| න්‍යෂ්ටික පිපිරවීම් | Nuclear Explosions | அணு வெடிப்புக்கள் |
| ආපදා කළමනාකරණය | Disaster Management | அனர்த்த முகாமைத்துவம் |
| ජල පෝෂක ප්‍රදේශ | Catchment Area | நீரேந்து பிரதேசம் |
| අකුණු සන්නායක | Lightening Conductors | மின்னல் தாங்கிகள் |
| අවදානම් කලාප | Hazardous Zones | அபாயம்மிக்க வலயங்கள் |
| හදිසි ආපදා මධ්‍යස්ථාන | Emergency Disaster Centers | அவசர பேரனர்த்த நிலையங்கள் |
| ආපදා කට්ටල | Disaster Kits | பேரனர்த்தம் தொடர்பான கருவித் தொகுதிகள் |
| ගෝලීය දේශගුණික වෙනස්වීම | Global Climatic Changes | பூகோளக் காலநிலை மாற்றங்கள் |
| ඉන්ධන දහනය | Burning of Fuel | எரிபொருள் எரிவு |
| වෙරළ ඛාදනය | Sea Erosion | கடல் அரிப்பு |
| වන හරණය | Deforestation | காடழிப்பு |

# 05 සිතියම් පරිහරණය




**සිතියම් පොතක් නිවැරදි ව සහ ඵලදායි ලෙස භාවිත කිරීම පිළිබඳ මූලික අවබෝධයක් ලබා දීම මෙම පරිච්ඡේදයේ මූලික අරමුණ වේ.**




භූගෝල විද්‍යා විෂය හැදෑරීමේ දී ලෝකය පිළිබඳ තොරතුරු රාශියක් අධ්‍යයනය කිරීමට සිදු වේ. ඒ සඳහා විවිධ තේමාවන් යටතේ සකස් කර ඇති සිතියම් භාවිත කිරීම අත්‍යවශ්‍ය වේ. සිතියම් පොතක, විවිධ තේමාවන්ට අනුකූල ව සිතියම් ඇතුළත් කර තිබේ.

වර්තමානයේ දී සිතියම, එදිනෙදා කටයුතුවල දී පරිහරණය කළ යුතු අත්‍යවශ්‍ය උපකරණයක් බවට පත් වී තිබේ. ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව මගින් මුද්‍රණය කර ඇති ශ්‍රී ලංකා පාසල් සිතියම් සංග්‍රහය, දැනට භාවිතයේ ඇති සිතියම් පොතකට එක් නිදසුනකි. සිතියම් පොතක් ඇසුරින්,

- විවිධ සිතියම් වර්ග
- සිතියමක දිශාව
- සිතියමක පරිමාණය
- සිතියම් සූචකය
- සූචිය

වැනි මූලිකාංග හඳුනා ගැනීමටත් එමගින් සිතියම් පොතක් නිවැරදි ව පරිහරණය කිරීමේ හුරුව ලබා ගැනීමටත් හැකියාව ලැබේ.



**ක්‍රියාකාරකම**

ඔබ අසා ඇති භාවිතයේ පවතින වෙනත් සිතියම් පොත් නම් කරන්න.

## විවිධ සිතියම් වර්ග

සිතියම් පොතක විවිධ සිතියම් වර්ග ඇතුළත් කර ඇත. "ශ්‍රී ලංකා ජාතික සිතියම් සංග්‍රහය" (පාසල් මුද්‍රණය - 1997) සිතියම් පොතෙහි,

11 පිටුව - භූ විෂමතාව සහ ජලවහනය දැක්වෙන සිතියම
13 පිටුව - භූ විද්‍යාව සිතියම

''ශ්‍රී ලංකා ජාතික සිතියම් සංග්‍රහය'' (පාසල් මුද්‍රණය) දෙවන සංස්කරණය 2015 සිතියම් පොතෙහි,

15 පිටුව - භූ විද්‍යාව සිතියම
23 පිටුව - භූ විෂමතාව සහ ජලවහනය සිතියම

නිදසුන් ලෙස දැක්විය හැකි ය.

## ක්‍රියාකාරකම



ඔබ පරිහරණය කරන සිතියම් පොතක් ගෙන එහි ඇතුළත් විවිධ සිතියම් වර්ග පිටු අංක සහිත ව වගුවක් සකස් කරන්න.

### දිශාව

ඕනෑ ම සිතියමක, දිශාව දක්වන සටහන යොදා තිබීම අත්‍යවශ්‍ය වේ. එසේ වුවද සිතියම් පොත්වල ඇති ඇතැම් සිතියම්වල දිශාව දක්වන සටහන් යොදා නොමැත. එවැනි අවස්ථාවක දී සිතියමේ මාතෘකාව (ශීර්ෂය) දක්වා ඇති දිශාව, උතුරු දිශාව ලෙස හඳුනා ගෙන, සෙසු දිශාවන් තීරණය කර ගත හැකි වේ. එමෙන් ම ප්‍රදේශයේ දිශාවලට අනුකූල ව සිතියමේ දිශාවන් ගැළපෙන සේ තබා ගැනීමෙන් සිතියමක් නිවැරදි ව දිශාගත කර ගැනීමට හැකි වේ. ඒ අනුව තමා සිටින ස්ථානයේ සිට සිතියමේ දක්වා ඇති ස්ථාන පිහිටි දිශාවන් නිවැරදි ව හඳුනා ගැනීමට හැකියාව ලැබේ.

### පරිමාණය

භූමියේ ඇති සියලු දෑ ඒ ප්‍රමාණයට ම සිතියමක ඇඳ දැක්විය නොහැකි ය. එබැවින් සිතියම නිර්මාණයේ දී කිසියම් පරිමාණයක් යොදා ගත යුතු ය. සිතියම් පොත්වල එක් එක් සිතියම් ඇඳ ඇති පරිමාණය දක්වා ඇත. පරිමාණය අනුව සිතියමේ විශාලත්වය ද වෙනස් වේ. පාසලේ ඇති බිත්ති සිතියම් සහ සිතියම් පොත්වල ඇති සිතියම්වල පරිමාණය සැසඳීමෙන් පරිමාණ අතර වෙනස තවදුරටත් හඳුනා ගැනීමට හැකියාව ලැබේ. අවශ්‍යතාව අනුව, අඳින ලද සිතියම කුඩා හෝ විශාල හෝ විය හැකි ය.

**ශ්‍රී ලංකා මිනුම් දෙපාර්තමේන්තුව මගින් නිර්මාණය කර ඇති ශ්‍රී ලංකාවේ භූ ලක්ෂණ සිතියම 1cmකින් 50,000cmක් නිරූපණය වන පරිදි 1:50,000 පරිමාණයට ඇඳ තිබේ.**

## ක්‍රියාකාරකම



ඔබ භාවිත කරන සිතියම් පොතක් ගෙන විවිධ පිටුවල ඇතුළත් කර ඇති සිතියම්වල පරිමාණ ලියා දක්වන්න.

### සූචකය

සිතියමක් කියවීම සඳහා සූචකය ද අත්‍යවශ්‍ය වේ. සිතියමෙන් නිරූපිත සෑම තොරතුරක් ම සම්මත සංකේත යොදා ගනිමින් සූචකයේ සටහන් කර ඇත. සිතියම

කියවීම සඳහා සූචකය ආධාර වන ආකාරය මතු දැක්වෙන සිතියම නිරීක්ෂණය කොට හඳුනා ගන්න.




5.1 සිතියම - ශ්‍රී ලංකාවේ සංචාරක ආකර්ෂණ ප්‍රදේශ

## ක්‍රියාකාරකම්



5.1 සිතියම ආධාරයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

01. සිතියම හා සූචකය හොඳින් නිරීක්ෂණය කොට සිතියමෙහි දැක්වෙන එක් එක් තොරතුරු හා ඒවාට අදාළ සංකේත ඔබේ අභ්‍යාස පොතේ අඳින්න.
02. සිතියමේ පරිමාණය කුමක් ද?
03. ත්‍රිකුණාමලය, මඩකලපුව, කොළඹ යන නගර, මහනුවරට කුමන දිශාවකින් පිහිටා තිබේ ද?
04. සූචකය ආධාරයෙන් සිතියම නිරීක්ෂණය කොට ගුවන්තොටුපළවල්, වරාය, වන ජීවී උද්‍යාන පිහිටා ඇති ස්ථාන තුන බැගින් නම් කරන්න.

### සුචිය

සිතියම් පොත්වල අකාරාදි පිළිවෙළට සකස් කරන ලද සුචියක් සකස් කර ඇත. කිසියම් ස්ථානයක පිහිටීම පිළිබඳ ව සොයා ගැනීම සඳහා එය ආධාර වේ. ජාතික සිතියම් සංග්‍රහය (පාසල් මුද්‍රණය - 1997) පොතෙහි පිටු අංක 104 - 109 දක්වා ඇතුළත් කර ඇති ශ්‍රී ලංකා මාර්ග සිතියමට අදාළ සුචිය 110 - 114 දක්වා පිටුවල ඇතුළත් කර තිබේ. එම සිතියම්වල කොටු දැලක් දැක්වෙන අතර එම කොටු තිරස් අතට අක්ෂරවලින් ද සිරස් අතට සංඛ්‍යාවලින් ද නම් කොට ඇත. ඒ අනුව සිතියමෙහි ඇති කොටු දැල නිරීක්ෂණය කොට යම් ස්ථානයකට අදාළ අක්ෂර හා සංඛ්‍යා අනුව සුචිය ආධාරයෙන් එම ස්ථානයේ පිහිටීම සොයා ගැනීමට හැකියාව ලැබේ.

## ක්‍රියාකාරකම්



01. ඔබ භාවිත කරන සිතියම් පොතක සුචිය ආධාර කර ගෙන ශ්‍රී ලංකාවේ ස්ථාන තුනක පිහිටීම සොයා ලියන්න.
02. ඔබගේ පාසල පිහිටි නගරයේ පිහිටීම සුචිය ඇසුරින් සොයා එහි පිටුව ද කොටුවට අදාළ අංකය හා අක්ෂරය ද ලියා දක්වන්න.

# සිතියම් පිටපත් කිරීම

ශ්‍රී ලංකා ආකෘති සිතියමක් කඩදාසියකට පිටපත් කිරීමේ හුරුවක් ලබා දීම මෙම පාඩමෙන් අපේක්ෂා කෙරේ.

අවශ්‍ය ද්‍රව්‍ය

- සිතියම් පොත
- ටිෂූ කඩදාසි/ විනිවිද පෙනෙන වෙනත් කඩදාසි
- පැන්සල්
- අල්පෙනෙත්ති හෝ ඇමුණුම් කටු



5.1 රූපය - සිතියමක් පිටපත් කරන ආකාරය

## පළමු පියවර

- ශ්‍රී ලංකා ජාතික සිතියම් සංග්‍රහය හෝ වෙනත් සිතියම් පොතක් ගෙන ශ්‍රී ලංකා ආකෘති සිතියමක් තෝරා ගන්න.
- සිතියම මත ටිෂූ කඩදාසිය නොසෙල්වෙන පරිදි තබා ගෙන ශ්‍රී ලංකාවේ වෙරළ සීමාව දක්වන රේඛාව නිවැරදි ව ඇඳගන්න.
- ටිෂූ කඩදාසිය වෙනත් කඩදාසියක් මත තබා ඉහත රේඛාව උඩ නැවත අඳින්න.
- පසුව ටිෂූ කඩදාසිය ඉවත් කොට සලකුණු වී ඇති ශ්‍රී ලංකා වෙරළ සීමාව දක්වන රේඛාව අඳින්න.

සිතියමක් පිටපත් කිරීමේ දී පිරිසිදු ව හා ක්‍රමවත් ව සිදු කිරීම ඉතාමත් අත්‍යවශ්‍ය වේ.

## පාරිභාෂික වචන

| සිංහල | English | தமிழ் |
|---|---|---|
| සිතියම් පරිහරණය | Use of Maps | படங்களைப் பயன்படுத்தல் |
| මිනින්දෝරු දෙපාර්තමේන්තුව | Survey Department | நில அளவையியல் திணைக்களம் |
| සූචකය | Key | குறியீட்டு விளக்கம் |
| දිශාව | Direction | திசை |
| සූචිය | Index | சுட்டெண் |
| පරිමාණය | Scale | அளவுத் திட்டம் |
| බිත්ති සිතියම් | Wall Maps | சுவர்ப் படங்கள் |
| සම්මත සංකේත | Conventional signs | நியமக் குறியீடுகள் |
| සිතියම් පිටපත් කිරීම | Tracing Maps | படங்களைப் பிரதிபண்ணுதல் |